# වෙලාවකට දුකයි වෙලාවකට සැපයි



ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය

ආචාර්ය පී.කේ. ගයනි ප්‍රසාදිකා රණසිංහ

වෙලාවකට දුකයි වෙලාවකට සැපයි



ප්‍රථම මුද්‍රණය 2020 ජූලි 27

ISBN 978-624-96400-0-9

පිටකවරය නිර්මාණය
ජී. එච්. තරුල් මින්දුල

මෙම පුස්තකය පිළිබඳ විමසීම්
0772 249 041 / 0718 386 834
gayaniprasadika@gmail.com

මුද්‍රණය
මෙවන්සා ග්‍රැෆික් ඇන්ඩ් ප්‍රින්ටර්ස්
බංගලාවත්ත, කොට්ටාව
දුරකථනය: 0112 783 059
0777 353 415 / 0777 410 005

# පිළිගැන්වීම

බුදු පියාණන් දෙසූ දහමට
පණ ලැබී ඇති මෙවන් යුගයක
සංසාර රිය ගමනින්
මිදෙන්නට අදිටනින්
මං පෙත් සොයනා පින්වතුනි
ඒ රිය ගමන අරිය කරන්නට
කාලයයි මේ
බුදු මග ඔබ විසින් ම
අත් දැකිය යුත්තකි
අවසරයි මෙමට
ඔබව යොමු කරන්නට
වෙලාවකට දුක ගෙන දෙන
වෙලාවකට සැප ගෙන දෙන
ජීවිතයේ යථාර්ථය
දකින්නට ඉවහල් වෙන
පර්යේෂණාත්මක ගවේෂණයක ට

ජ්‍යෝෂ්ඨ කථිකාචාර්ය
ආචාර්ය ටී.කේ. ගයනි ප්‍රසාදිකා රණසිංහ

# පුණ්‍යානුමෝදනාව

මා කුඩා කාලයේ සිටම උතුම් බුද්ධ ධර්මය දැන දැක ගැනීමට විවිධ මං පෙත් සොයමින් කටයුතු කළ අයෙකි. එම ජීවිත අත්දැකීම්වලට ඉත සිතින් සහයෝගය දුන් මාගේ දෙමව්පියන්ටත්, සහෝදරියටත්, සහෝදරයාටත්, නෑහිතමිතුරන්ටත්, සැමදා සවිමත් අත්වැලක් වූ මාගේ ස්වාමියාටත්, ඔහුගේ මව සහ සහෝදරියටත්, මාගේ පුතණුවන්ටත්, පෙර පාසලේ සිට මොරටුව සරසවිය දක්වා මා හට අධ්‍යාපනය ලබා දීමට කටයුතු කළ ගුරුමව්පියවරුන්ටත් කෘතවේදීව පුණ්‍යානුමෝදනා කරමි.

මෙම පුස්තකය මා ලද අත්දැකීම් සමුදායක් වචනවලට පෙරලීමට මා ගත් උත්සාහයක ප්‍රතිඵලයකි. එම අත්දැකීම් සියල්ල තුළින් 'ජීවත් වෙනවා යන්නෙහි පරමාර්ථය දැකීමට' මට මග පෙන් වූ පරම සත්‍යය පෙන්වා දුන් මහා ප්‍රාඥ අති පූජනීය බුද්ධ පුත්‍ර මීවනපලානේ සිරි ධම්මාලංකාර සිව්පිළිසිඹියාපත් මහ අරහතුන් වහන්සේට මෙම අති උදාර වූ සාසනික යුග මෙහෙවර චිරාත් කාලයක් යෙහෙන් සිදු කිරීමට කායික නිරෝගී සුවයත් දීර්ඝායුෂත් ලැබේවා! යි අධිෂ්ඨාන කරමි.

මෙම පුස්තකය ලිවීම සඳහා නිරතුරුව ම මා දිරි ගන්වමින් අත හිත දුන් පින්වත් මහත්ම මහත්මීන්ටත්, මෙම පුස්තකය ධර්ම දානය පිණිස නොමිලයේ බෙදා දීම සඳහා උදවු උපකාර කළ පින්වත් මහත්ම මහත්මීන්ටත්, මුද්‍රණ කටයුතු කළ මෙවන්සා ග්‍රැෆික් ඇන්ඩ් ප්‍රින්ටර්ස් ආයතනයේ කාර්යමණ්ඩලයේ සියලු දෙනාටත් මෙම උදාරතර ලෝකෝත්තර පුණ්‍ය කම්මය නිබ්බාන ගාමී මාර්ගයේ දොරටු විවර වීම පිණිස ම හේතු වේවා! යි අධිෂ්ඨාන කරමි.

ආචාර්ය ටී.කේ. ගයනි ප්‍රසාදිකා රණසිංහ

# පටුන

# 1. දුක ගෙන දෙන ජීවිත ගමන

දහසක් රාජකාරි, වැඩ කටයුතු සිතේ පුරවා ගෙන නින්දට යන ඔබ, පසුවදා උදෑසන අවදි වන්නේ එම වැඩ කටයුතු සියල්ල ම හැකි ඉක්මනින් නිමකර ගැනීමේ අටියෙනි. ඒත් එදින හවස් වන විට තිබුණාටත් වඩා වැඩ කටයුතු ලැයිස්තුවක් නැවතත් හිස මත දරා ගෙන ඔබ නින්දට යයි. මේ කෙළවරක් නොමැති වැඩ රාජකාරි වලින් බරිතව දිනෙන් දින වයසට යන ඔබේ ජීවිතයයි.

මේ අතර හැල්මේ දුවන වැඩ රාජකාරි වලින් හෙම්බත් නොවූ නිදහසේ ගත කළ ළමා කාලය, ඔබේ මතකයට නැගෙයි. ඒ කාලය කෙතරම් සුන්දරද? ඔබ ඔබේ දෙමව්පියන්ගේ රැකවරණය මත ගෙවා දැමූ පාසැල් කාලය දැනට වඩා සැහැල්ලු නමුත් පාසැල් අධ්‍යාපනයටත් උපකාරක පන්තිවලටත් කොටු වූ එම ජීවිතය ද තරමක් නීරස යැයි ඔබට සිතෙයි. ඔබ ඒ කාලයේ දී සිහින මැව්වේ පාසැල් දිවියට වඩා සුන්දර වූ ජීවිතයක් මතු අනාගතයේ දී උරුම කර ගන්නට නොවේ ද?

වරෙක, කුඩා දරුවෙකු දකින ඔබ නිතැතින් ම ඔබේ ළදරු කාලය පිළිබඳ චිත්ත රූප මවන්නේ ඒ පිළිබඳ හරිහැටි මතකයක් නොමැති නිසාය. දෙමව්පියන්ගේ අසීමිත වූ උදවු උපකාරයෙන් ගෙවා දැමූ ඒ දිවිය සැහැල්ලු යැයි ඔබට

සිතෙයි. ඒත් කුඩා දරුවෙක් හඬමින් ලෙඩ වෙමින් ගත කරන අවස්ථාවක් දුටු විට ඔබත් කොයි තරම් හඬමින්, ලෙඩ වෙමින් කිසිත් කර කියා ගත නොහැකිව කොයි තරම් නම් දුකක් විඳින්නට ඇත් දැයි සිතෙයි.

බිළින්දෙක්, දරුවෙක්, ළමයෙක්, තරුණියක්, තරුණයෙක්, බිරිඳක්, සැමියෙක්,  ගෘහණියක්, මවක්, පියෙක්, ගුරුවරියක්, ගුරුවරයෙක්, යම්කිසි රාජකාරියක නිරත වන්නෙක් ලෙස නානාවිධ වූ භූමිකාවන් පසු කරමින් ඔබ කෙමෙන් කෙමෙන් පියවර තබන්නේ මහල්ලෙක්, ලෙඩෙක්, මළමිනියක් යන භූමිකාවලින් ජීවිත ගමනේ නිමාවක් දකින්ටයි. එසේ වුවද සමහර අයගේ ජීවිත මේ භූමිකාවල් ළඟා කර ගන්නටත් කලින් ම නිමා වූ හැටි ඔබ අත් දැක ඇත.

සැබවින් ම ඔබේ ජීවිත ගමන මෙසේ නිමා වෙයි ද? ඔබට මරණින් පසු සිදු වන්නේ කුමක් ද? ඔබ 'මරණින් මතු යළි උපතක්' තිබෙනවා යැයි විශ්වාස නොකරන්නේ ද? ඔබ නැවත නැවතත් මැරි මැරී ඉපදි ඉපදී යන මේ දුක ගෙන දෙන සංසාර ගමනට හේතුව කුමක් ද? (සූ.දේ.1)

ඔබ අප සියලු දෙනාගේ ම කැමැත්ත වන්නේ ජීවත් වන ටික කාලය උපරිම සතුටින් ගෙවා දැමීමයි. ඔබ හැමවිට ම සිහින මවමින් බලාපොරොත්තු සහගතව ඒ සඳහා සියලු කටයුතු

සිදු කරයි. එදිනෙදා ජීවිතයේ සුපුරුදු වැඩ රාජකාරි මැද ඔබ දවස ගෙවන්නේ රිද්මයානුකූලව ගලා යන මුහුදු රළක් මෙනි. ඒත් දවසේ සිදු වන සමහරක් සිදුවීම් නිසා සිත වික්ෂෝපයට, කම්පනයට පත් වන්නේ සැඩ රළ පහරක් මෙනි. මෙවැනි අවස්ථාවල සිතට දැනෙන තැවීම, දැවීම, රත්වීම, විඳ දරා ගැනීමට නොහැකි තරම් ම පීඩාකාරි නොවේ ද? එය සියොලඟ දවාහරින මහ ගින්නක් මෙන් ඔබට හැඟෙයි.

ඔබ හොඳට කල්පනා කරලා සිතලා බලන්න, ඔබේ සිතට තරහක්, වෛරයක්, ක්‍රොධයක්, හිංසාවක් දැනුණ විට ඔබට කොයි තරම් නම් දැවිල්ලක්, පිච්චිල්ලක්, රත්විල්ලක්, තැවිල්ලක්, මත්වීමක් දැනෙනවාද කියලා. එවැනි අවස්ථාවලදී ඔබට ඔබව ම පාලනය කර ගත නොහැකිව, ඔබ අන් යට පහර දුන් අවස්ථා, බැණ වැදුණ අවස්ථා අනන්තවත් අත් දැක ගෙන ඇත. ඔබ මේ ආකාරයට කටයුතු කරන්නේ, එම දුක් දොම්නස් ඔබට උරුම වීමට ඒ අය විසින් සිදු කළ කුමන හෝ ක්‍රියාවක් හේතු වූ නිසා යැයි ඔබ සිතන නිසා නොවේ ද?

සැබැවින් ම ඔබ සමග ජීවත් වන අයගේ ක්‍රියා නිසා, ඔබ ජීවත් වන පරිසරය නිසා, ඔබට එදිනෙදා ජීවිතයේ කිරීමට තිබෙන කෙළවරක් නොමැති වැඩ රාජකාරී නිසා ඔබට මේ සියලු දුක් කම්කටොලු උරුම වෙනවා ද?

# 2. දුකෙන් මිදී සැපෙන් සිටීමට ඔබ කරන දේවල්

ඔබ තවත් විටෙක දී ඔබට මේ සියලු දුක් කම්කටොලු උරුම වූයේ ග්‍රහ අපල නිසා, භූත දෝෂ නිසා, නිවාස ඉදිකිරීමේ දී ඇති වූ දෝෂ නිසා, ඉඩමේ ඇති ගස් ගල් වල දෝෂ නිසා, ඇස්වහ කටවහ දෝෂ නිසා ආදි වශයෙන් නානාවිධ වූ හේතු සිතයි. ඔබ නැවත නැවත මෙවැනි දුක් පීඩා විඳින විට එසේ සිදු වන්නේ ඔබේ 'කරුමය' නිසා යැයි සිතයි. එසේ කරුමය හේතුවක් යැයි සිතන්නේ ද ඔබේ වැඩිහිටියන් ද එවැන්නක් විශ්වාස කරන නිසාය.

ඔබට යම් දුකක් කනගාටුවක් උරුම වූ විට, ඔබේ සිතේ ඇති වෙන රත් වීමෙන් පිච්චීමෙන් මිදී නිදහස් වෙන්නට ඔබ කොපමණ උත්සහ කරනවා ද? ඒ සඳහා ඔබ නොයෙකුත් දේවල් සිදු කරයි.

ඔබ සාස්තර කියන පුද්ගලයන් සොයා යයි. දුකෙන් මිදීමට කිසිදා නොදුටු දෙවියන්ගෙන් පිහිට ඉල්ලා යාතිකා කරයි. ඔබ නිදහස් පරිසරයකට ගොස් කල්පනා කරමින් සිතේ ඇති වූ දුකින් කෙසේ හෝ මිදී නිදහස් වීමට කටයුතු කරයි. එසේත් නැති නම් වන අරණකට  භාවනා මධ්‍යස්ථානයකට ගොස් එහි දී අසා දැන ගත් හුස්ම රැල්ලට සිත යොමු කරමින් කරනා ආනපාන ප්‍රාණයාම භාවනාවක් හෝ කසින

භාවනාවක් වඩමින් සිතේ ඇති වූ දුක සමථයකට පත් කර ගන්නට උත්සහ කරයි.

මෙසේ සම්මත සමාජයේ එදත් අදත් අපේ දෙමව්පියෝ, ගුරුවරු, වැඩිහිටියෝ, පූජකවරු දුකෙන් මිදීම උදෙසා නානාවිධ වූ ක්‍රම වේදයන් අනුගමනය කරති. මේ ක්‍රම වලින් ඔබට යම් සහනයක් ලැබෙන බව, ඔබ විශ්වාස කරනවා ද? සැබවින් ම මෙහිදී සිදු වන්නේ කුමක් ද?

දිනක් මිනිසෙක් ඔහු සතු අනර්ඝ මෝටර් රථයකින් ගමනක් යන අතර තුර හදිසියේ ම පාරේ ඉදිරියට පැමිණි බල්ලෙකු නිසා ඔහුට රථය පාලනය කර ගත නොහැකිව අසල තිබුණු ගසක වැදී මෝටර් රථයට දැඩි අලාභ හානි සිදු විය. එයින් ඔහුත් ඔහුගේ බිරිඳත් ඉවසා ගත නොහැකි තරම් වූ දුකට පත් වූහ. බිරිඳ ස්වමියාට පැවසුවේ එදින එම ගිය ගමන තමන් වෙන දිනයක වෙන වෙලාවක ගියා නම් එසේ සිදු නොවන බවයි. ස්වමියා බිරිඳට පැවසුවේ, එම වේලාවේ ඔහු සමග ඇය කතා කරමින් පැමිණි නිසා ඔහුට රථය පාලනය කරගත නොහැකි වූ බවයි. අවසානයේ දෙදෙනා ම තීරණය කළේ එසේ  එම කරදරය සිදු වූයේ ඔවුන්ට අපල ඇස්වහ කටවහ ඇති නිසා බවයි.

එසේ සිතා ඔවුහු දේවාලයකට ගොස් කපු මහතා ලවා දෙවියන්ට යාතිකා කොට එවැනි අනතුරු වලින් ඉදිරියේදී

ඔවුන්ව ආරක්ෂා කර දෙන ලෙස දෙවියන්ගෙන් ඇයද සිටියහ. කපු මහතාගේ ගාම්භීර වූ කන්නලව්ව තුළින් සිතේ ඇති වූ මෙම අනාගත සුරක්ෂිතභාවය නිසා ඔවුන්ගේ සිතට සහනයක් ගෙන දුනි. දුක තුනී වී කෙමෙන් කෙමෙන් නැති වී ගියේ අනාගතයේ දී තමන්ට එසේ කිසිදු කරදරක් සිදු නොවන බවට සිතේ ඇති වූ ඉමහත් විශ්වාසය නිසාවෙනි.

එසේ නම් මෙහිදී සිදු වන්නේ කුමක් ද? ඔබේ හිත වෙනත් බලාපොරොත්තුවක් ඔස්සේ ක්‍රියා කිරීම නිසා එම දුක තාවකාලිකව නැති වීමයි. සැබවින් ම එවැනි දුක් කම්කටොලු වලින් ඔබට සදහට ම මිදෙන්නට හැකි වූවා ද? සැබවින් ම දෙවියන් ඔබට පිහිට වී ඔබව අනතුරු වලින් ආරක්ෂා කරනවාද?

සමහර අය දුකෙන් මිදෙන්න සිතා කරන මෙවැනි ක්‍රියා නිසා 'කබලෙන් ලිපට වැටුණාක් මෙන්' ඔවුන් අත් විඳි දුක්ඛිත තත්වයන්ටත් වඩා බලවත් වූ නොයෙකුත් දුක් කරදරවලට මුහුණ දීමට සිදු වූ අවස්ථා ඔබ අත් දැක ඇත.

එසේ නම් මේ දුක කුමක් ද? එය හට ගන්නේ කෙසේ ද? එයින් සදහට ම මිදී නිදහස් විය හැකි ද? ඔබේ සිත ගිනි ගන්නා, තවා දවා හරින සිදුවීම්, ඔබ තුළ ජනිත වන අවස්ථා හොඳින් පරීක්ෂාකාරිව අත් දැක ගැනීමෙන් ම මේ ප්‍රශ්න වලට පිළිතුරු ඔබ ම සොයා ගන්නට උත්සහ කරන්න.

## 3. දුක සැප තියෙන්නේ කොහේද?

කතාවට කියනවා ජීවිතය කියන්නේ දුක සැප අතර ගලා ගෙන යන දෙයක් කියලා. පොඩ්ඩක් හිතලා බලන්න, මේ දුක සැප තියෙන්නේ කොහේ ද කියලා. ඒ වගේ ම බොහෝ මිනිසුන් හිතනවා කල්පනා කරනවා ඒ අයට හිතෙන හිතෙන දේ කරන්න ඇති තරම් සල්ලි, දේපල, වස්තු, සම්පත් තියෙනවා නම් කොපමණ සැපයි ද කියලා. එත් ඔබ ලෝකයේ සිටින සුපිරි ධනවතුන්ගෙන් අහල බැලුවොත්, ඔවුන් හැමදාම හැම මොහොතේ ම ඉන්නේ සතුටින් ද කියලා ‘පිළිතුර’ කුමක් වේවි ද? නියත වශයෙන්ම පිළිතුර ‘නැත’ යන්නයි. ඒ වගේම සමහරු කියනවා, ‘අපි කැමති හැමදේ ම අපිට තියෙනවා, එත් සිතේ සතුටක් නෑ’ කියලා.

එහෙම නම්, මේ දුක සැප සතුට තියෙන්නේ කොහේ ද? ඔබ සතු දේපල සම්පත් වල ද? ඔබට අයිති නැති බඩු බාහිර ආදී දේවල් වල ද? ඔබ සමග එකට ජීවත් වෙන දෙමව්පියෝ, සහෝදරයෝ, යාළුවෝ, නෑදෑයෝ තුළ ද? ඔබ සමග ඇසුරට නොඑන අය තුළද?

ඔබ ජීවත් වන ලෝකයේ ඔබ ඇසුරු කරන බාහිර වස්තු, පුද්ගලයෝ, සිද්ධි දේවල් ආදිය නිමිති කර ගෙන ‘ඔබේ සිතේ ඇති වෙන කැමැත්ත ඔබ කැමති ආකාරයට ම

පවත්වා ගැනීමට හැකි වූ විට' ඔබේ සිතේ සැප වේදනාවන් ඇති වෙන බවත්, 'ඔබේ සිතේ ඇති වෙන කැමැත්ත ඔබ කැමති ආකාරයට ම පවත්වා ගැනීමට නොහැකි වූ විට' ඔබේ සිතේ දුක් වේදනාවන් ඇති වෙන බවත් ඔබට අත් දැක ගත හැකිය.

එහෙම නම් මේ දුක හෝ සැප ඇති වෙන්නේ සිතේ ද යන්න සිතීමට ඔබ පෙළඹේවි. එසේ තම තමන්ගේ සිත තුළ දුක සැප දෙකම ඇති වෙනවා නම්, ඔබට ඔබේ සිත තුළ සැප වේදනා පමණක් ම ඇති වෙන ආකාරයට සිත පවත්වා ගන්න පුළුවන් නම්, හැමදාම සතුටින් සිටීමට පුළුවන් වේවි යැයි ඔබට සිතෙන්නට පුළුවන.

වරකදී ඔබ ඉතා කැමැත්තෙන් ඇලී ගැලී ලබන්නට කටයුතු කරන දෙයක් ඔබට ලැබුණ මොහොතේ ඔබ ඉතා සතුටු වෙයි. එත් ටික වේලාවකින් නැවතත් ඔබ කැමති තවත් දෙයක් ලබා ගන්නට, එය ඇසුරෙන් සතුටක් විඳින්නට නැවත නැවතත් ඔබේ සිත ඔබේ කැමැත්ත ඔස්සේ කටයුතු කරයි.

ඔබ ඔබේ සිත ගැන සිතේ හැසිරීම ගැන හොඳින් විමසා බැලුවොත්, ඔබ හඳුනා ගනිවී මෙසේ මුහුදු රළ වගේ වරින් වර ඔබේ සිත වෙනස් වන්නේ කුමක් නිසා ද කියලා. ඔබ තේරුම් ගනීවි, මෙ සිත වරින් වර සිතේ ඇති වෙන

කැමැත්ත සහ අකමැත්ත අනුව වෙනස් වන බව. එහෙම නම් මේ කැමැත්ත සහ අකමැත්ත සිත තුළ ඇති වන්නේ කෙසේද? එහි නිර්මාතෘ කවුරුන් වන්නට ඇති ද? දෙවියන් වහන්සේ ද? ඔබට නොපෙනෙන බාහිර බලවේගයක් ද? ඔබේ කරුමය ද?

ඔබ ප්‍රායෝගිකව ම පරික්ෂාකාරීව විමසන්න, ඔබේ සිතේ දුක ඇති වෙන්නේ, ඔබ කැමති දෙයක් කැමති ආකාරයට ම පවත්වා ගැනීමට බැරි වුණ නිසා නොවේ ද ? කැමති දේ කැමති ලෙස ම සිදුවීම සතුටක් නම් එසේ සිදු නොවීම දුකක් වුයේ, 'දුක' යන්න 'සතුටේ ම දෙවෙනි වේෂය' නිසා නොවේ ද?

මේ දුක සැප දෙකෙහි ම දෝලනයට හේතු වූ නිමිත්ත, එනම් 'තම තමන් කැමති දේ, කැමති ආකාරයෙන් නිශ්චිතවම පවත්වා ගැනීම' සිත තුළ නිර්මාණය කළේ කවුද? ඔබ ප්‍රිය දේට කැමැත්තෙන් ම ඇලී ගැලී ආශා කිරීමටත් අප්‍රිය දේට කැමැත්තෙන් ම ගැටීමටත් විරුද්ධ වීමටත් ඔබට කවුරුන් හෝ විසින් ඉගැන් වුවාද?

ඔබට ඔබේ ළදරු කාලය ගැන මතක නැති වුණාට ඔබ දැක ඇති බහ තෝරන වයසේ සිටින පුංචි දරුවන් ඒ අය ආශා කරන සෙල්ලම් බඩුවක් අනෙකෙකු විසින් ගන්න හදන විට, හඬමින් එම පුද්ගලයාට පහර දෙමින් එය ඉල්ලන අයුරු.

මෙසේ කිරීමට ඒ කුඩා දරුවන්ට කිසිවෙක් කියා දුන්නා ද? එසේ නම් මේ තරහ ගෙන දුන් කළු ගතිය, ඔවුන් තුළින් මතු වූයේ ඔවුන් තුළ ම තැන්පත් වී පැවති නිසා නොවේ ද? මේ ගති ලක්ෂණ ඔවුන් තුළ මුල් බැහගෙන ඇත්තේ කෙසේ ද? කවදා සිට ද?

පුංචි කාලයේ දී ඔබේ අම්මා ඔබට තොප්පි වෙළෙන්දාගේ කතාව කියා දෙන විට වෙළෙන්දාගේ තොප්පි ටික වඳුරන් රැගෙන ගිය බව පවසන විට ඔබේ සිතේ තොප්පි වෙළෙන්දා ගැන දයාවක්, කරුණාවක් ඇති වූයේ නිතැතින් ම නොවේද? ඔබට ලැබුණු ආහාරයක් අන් අයටත් ලබාදී බෙදා හදා ගෙන කෑමෙන් ඔවුන්ගේත් කුසගින්න නිවන්නට පිහිට වීම නිසා ඔබේ සිතට සැනසීමකින් දැනෙයි. එසේ නම් මේ යහපත් සුදු ගති ලක්ෂණත් ඔබ තුළ කවදා හෝ මුල් බැහ ගෙන තිබූ ඒවා නොවේ ද?

මේ ආකාරයට තරහව වෛරය ක්‍රෝධය ලෙසත්, දයාව, කරුණාව, පිහිටවීම ලෙසත් සිතේ ඇති වෙන මේ හැඟීම් මොනවා ද? එසේ වරකදී එකිනෙකට වෙනස් ආකාරයේ සිත රත් වෙන මත් වෙන ගිනි ගන්නා තැවෙන දැවෙන වේදනාත්, තවත් වරෙක දී සිත නිවෙන මිදෙන සැනසෙන වේදනාත්, ඇති වන්නේ ඔබ තුළ ම ඔබේ සිත තුළ ම නොවේ ද?

## 4. යායට යායට ඇවිලි ඇවිලි යන ගිනි

එදා සති අන්ත නිවාඩු දිනයකි. සැමියා සුපුරුදු ලෙසින් උදෑසනින්ම පුවත් පතක් බලන්නට පටන් ගත්තේය. බිරිඳ සුපුරුදු ලෙසින් මුල්තැන්ගෙයි කෑම පිසිමින් සිටියි. එදින නිම කිරීමට ඇති වැඩ කටයුතු සියල්ල ඇගේ මතකයට නැඟෙනවාත් සමගම, මේ වැඩ ටික ඉක්මනින් ම නිම කර ගැනීමට සැමියා ද ඇයට උදවු කරන්නේ නම් කොපමණ පහසුවක් දැයි ඇය සිතයි.

"මේ ඔයාට පුළුවන්ද වත්ත පොඩ්ඩක් සුද්ධ පවිත්‍ර කරලා වල් පැළ ටික උදුරලා දාන්න." ඒ ඇයගේ ආයාචනාත්මක ඉල්ලීමයි.

"නිවාඩු දවසකට වත් නිවි සැනසිල්ලේ ඉන්න දෙන්නේ නෑනේ" ඒ ඇයගේ සැමියා ඊට දුන් පිළිතුරයි.

"මමත් දවස් පහම වැඩ රාජකාරි වල නිරත වෙලා තමයි හිටියේ, නිවාඩු දවසේත් මේ ගෙදර වැඩ ඔක්කොම මම ම තනියම කරන්න ද? " ඒ බිරිඳගේ විවේචනාත්මක හඬයි.

මෙසේ ආරම්භ වු කථා බහ අවසන් වන්නේ දෙදෙනා තුළම හිත් අමනාප කමක් ඇති වීමෙනු යි. මෙවැනි අඬ දබර කම් ඕනෑම පුද්ගලයන් අතර අනන්තවත් සිදු වී ඇත. මේ අඬ දබර කම් වලට වයස් භේදයක්, ජාති භේදයක්, සත්ත්ව භේදයක් නැත. සියලු සතුන් අතර ඇති වන්නේය.

මෙසේ ඔබේ සැමියා හෝ බිරිඳ කුමක් හෝ කරුණක් අරබයා ඔබට බැණ වැදුන විට, ඔබේ සිතේ ඇති වෙන්නේ දුක්බර වේදනාවකි. ඒ වේදනාව ඔබේ සියොලඟ දවා හරින 'මහ ගින්නක්' බවට පත් වන්නට ගත වන්නේ නිමේෂයකි. මෙහිදි ඔබේ සිත පොර බදින්නේ හුදෙක් ඒ මොහොතේ සැමියා හෝ බිරිඳ  ඔබට කළ බැණුම ගැන පමණක් ම නොවෙයි. ඔහු හෝ ඇය විසින් මීට පෙර ඔබට සිදු කර ඇති බැණුම්, ගැරහුම් සියල්ල රූප පෙළක් සේ ඒ ඒ අවස්ථාවල දී ඇති වූ දුක් වේදනාවන් ද පොකුරට කැටි වෙමින් මහා වේගයකින් හදවත පසාරු කරමින් දුක් ගින්නක් උපදින්නේ මහ බල වේගයක් මෙනි.

"ඇවිළෙන ගින්නට පිදුරු දමන්නාක් මෙන්" ඔබේ සිතේ ජනිත වූ දුක් ගින්න යායට යායට ඇවිලි ඇවිලි යන්නේ ඔබට ඔබව ම පාලනය කර ගත නොහැකි තරම් වූ දැඩි කම්පනයක් පීඩාවක් සහිතවයි. (සූ.දේ. 2)

මේ ගිනි ගොඩවල් මැද මා ජීවත් වන්නේ කොහොමද? ජීවත් වෙනවා කියන්නේ මේකට ද? මේ ජීවිතය කොයි තරම් නම් දුකක් ද? මම මේ දුක කොහොම ඉවසන්න ද? කෙසේ හෝ ඉවසා සිටියත් මෙහි නිමාවක් දකී ද? මෙවැනි දුක් ගිනි උරුම වීමට හේතුව කුමක් ද? ආදි ප්‍රශ්න පෙළක් ඔබ තුළ මතු වූයේ නම්, ඒ ඔබ තුළ වූ ප්‍රඥාවන්තකම නිසාමය.

බොහෝ දෙනෙකු මෙවැනි අවස්ථාවල කරන්නේ ප්‍රශ්න වලින් පලා යාමයි. ඒ සඳහා ඔවුන් සිතන එකම විසඳුම ‘දික්කසාදයයි’. එහෙමත් නැති නම් ‘සිය දිවි හානි කර ගැනීමයි’ ‘වෙනත් විවාහයක් සිදු කර ගැනීමයි’. මේ විසඳුම් හේතුවෙන් ඔබට ඔබේ සිතේ තව දුරටත් දුක් ගිනි හට ගැනීමෙන් මිදී නිදහස් විය හැකි ද?

ඒ වගේම වරෙක, ඔබව හදා වඩා ගත් දෙමව්පියන් ඔබට බණින විටක දී හෝ ඔබ විසින් හදා වඩා ඇති දැඩි කළ ඔබේ දරුවන් ඔබට බණින විටක දී හෝ ඔබේ දරුවන්ට ඔබ බණින විටක දී ඔබේ සිත හැසිරෙන  ආකාරය පරීක්ෂාකාරීව විමසා බලන්න.

ඔබේ සිතේ ඇති වෙන දුක් වේදනාවක් දිගේ සිතුවිලි පවත් වමින්, තමන්ට ඒ දුක් වේදනා ඇති වුණේ අන් අයගේ වරදක් නිසා ම බව සිතමින්, විඳව විඳවා සංවේගයට පත් වෙලා අන් අයට දොස් පවරමින්, දෙස් දෙවොල් තියමින්, කෑගසමින් ඔබ අන් යට පහර දුන් අවස්ථා, බැණ වැදුණ අවස්ථා අනන්තවත් අත් දැක ගෙන ඇති.

මෙවැනි සිදුවීම් නිසා දරුවන් අතින් දෙමව්පියන් ඝාතනය වීම, දෙමව්පියන් අතින් දරුවන් ඝාතනය වීම, දරුවන් ගෙදරින් පැන යාම, දෙමව්පියන් ගෙවල් දොරවල් හැර යාම වැනි දේවල් පවා සිදු විය හැකිය.මෙවැනි විසඳුම් හේතුවෙන්

ඔබට ඔබේ සිතේ තවදුරටත් දුක් ගිනි හට ගැනීමෙන් මිදී නිදහස් විය හැකි ද?

සැබවින් ම ඔබ කැමති ආකාරයට ඔබේ දරුවන්, ඔබේ සැමියා ඔබේ බිරිඳ ක්‍රියා නොකරන විට ඔබේ සිත තුළ දුකක් කනගාටුවක් ඇති වෙයි. එම දුක් වේදනාව දළු ලා වැඩී ඔබ තුළ ඔවුන් කෙරෙහි දැඩි තරහක් උපදියි. ඔවුන් එසේ ඔබ කැමති ආකාරයට ක්‍රියා කරයි නම් ඔබේ සිත තුළ සතුටක් ඇති වෙයි. එම සුව වේදනාව දළු ලා වැඩී ඔබ තුළ ඔවුන් කෙරෙහි දැඩි ඇල්මක් ආදරයක් උපදියි.

එසේ ඒ ඒ ආකාරයෙන් ඔබ ඇසුරු කරන බාහිර පුද්ගලයන් කෙරෙහි, ඔවුන්ගේ ස්වරූපයන් කෙරෙහි, ඔවුන්ගේ හැසිරීම් රටා කෙරෙහි ඔබේ සිතේ කැමැත්තක් හෝ අකමැත්තක් ඇති වූයේ ඔබ තුළම වූ ගති ලක්ෂණ නිසා නොවේ ද?

එසේ නම් මේ සියලු ගති ලක්ෂණ ඔබ තුළින් මතු වූයේ ඔබ තුළ ම තැන්පත් වී පැවති නිසා නොවේ ද? මේ ගති ලක්ෂණ ඔබ තුළ මුල් බැහගෙන ඇත්තේ කෙසේ ද? එම ගති ලක්ෂණ නිර්මාණය වූයේ කෙසේ ද? කවදා සිට ද?

## 5. ඔබ තුළ පවතින්නා වූ ගති ලක්ෂණ නිර්මාණය වූයේ කෙසේද?

ඉහත සඳහන් කළ පරිදි සැමියා සහ බිරිඳ අතර ඇති වූ අමනාපකම නැවත සිහිපත් කර බලන්න. ඔබට ඔබේ සැමියා හෝ බිරිඳ බැණ වැදුන මොහොතේ සිට ඔබේ සිත හැසුරුණු ආකාරය හොඳින් සෝදිසි කර බලන්න. ඔහු හෝ ඇය ඔබට කීවේ වචන ටිකකි. ඔබ හිතන්නේ ඔහු හෝ ඇය ඔබට බැණ වැදුන බවයි. වචන වල බැණුම් තිබේ ද? ඔබට ඒ කියූ වචන නිසා සිතට ඇති වුණේ දුක වේදනාවකි. එම වේදනාව නිසා ඔබේ සිතේ ඔහු හෝ ඇය කෙරෙහි තරහවක් හට ගත් බව නොරහසකි. මෙසේ වචන ටිකක් නිසා ඔබේ සිතේ තරහක් හට ගත්තේ කෙසේ ද?

'ඔබේ සැමියා හෝ ඔබේ බිරිඳ ඔබ කරන කියන දේට හැමවිට ම එකඟව කටයුතු කරයි' යන ඔබේ තීරණය, ඔබේ කැමැත්ත නොවේ ද? ඔබ කැමති ආකාරයට ම සියල්ල සිදු වේවි යැයි ඔබ සිතයි. එම කැමැත්ත සිදු නොවන ආකාරයට ඔහු හෝ ඇය යමක් පවසන විට, එම වචන හරහා ඔබ දකින්නේ ඔහු හෝ ඇය ඔබට දොස් පවරනා බවයි.

මෙහි දී බිරිඳගේ බලාපොරොත්තුව කැමත්ත වූයේ, තම සැමියා විසින් "හා හොඳයි මම ඒ වැඩ ටික කරන්නම්" යැයි පවසා එම වැඩ ටික ඔහු ලවා සිදු කර ගැනීමයි. මඳක්

කල්පනා කොට බලන්න. ඇත්තටම සැමියා විසින් එම වැඩ ටික සිදු කළා නම් බිරිඳගේ සිත හැසිරෙන ආකාරය කෙබඳු වේවි ද?

බිරිඳගේ සිතේ ඇති වන්නේ සතුටකි. එය ඇය බලාපොරොත්තු වූ කැමැත්ත ඉටු වීම නිසා ම ඇති වූවකි. ඒ සතුට ඇයට නොදැනීම දළුලා වැඩි ඇති බව ඇයට සිහි වන්නේ, ඇගේ මිතුරියක් එම මිතුරියගේ සැමියා එසේ ඇය විසින් කියන කිසිවක් නොකරන බව දිනක් කී කථාවක් සිහි විමෙනි. ඇයගේ සිත ඉමහත් වූ ආඩම්බරයකින් පිරි යයි. ඒ තමාට උදවු කරන, තම සිතැඟි සැමියෙකු තමාට උරුම වීම පිළිබඳ ඇති වූ ඉමහත් ප්‍රීතියයි. මෙවැනි අවස්ථාවක් ඔබත් අත් දැක ඇත්නම්, ඔබ හොඳින් සෝදිසි කොට ඔබේ සිත හැසිරෙන ආකාරය විමසා බැලුව හොත්, ඔබට ඔබ තුළ ඇති වෙන මත් බව මුසපත් බව හඳුනා ගත හැක.

ඔබ ‘කැමැති දෙය සිදුවීම’ ඔබේ කැමැත්තයි.ඔබේ කැමැත්ත (ඉච්ච) පරිදි ම යම් දෙයක් සිදු වූ විට ඔබේ සිතේ ප්‍රිය වේදනාවක්, සුව වේදනාවක් ඇති වෙයි. එවිට එම කැමැත්තට (ඉච්චට) ඔබ ‘අන්තගාමීව’ ඇලෙයි. එනම් ‘පටි ඉච්ච’ වෙයි. මේ නිසාම එම අධික කැමැත්ත (අභි ඉච්ච) තවදුරටත් නිශ්චිතව ම ඔබ කැමති ආකාරයට දිගින් දිගටම පවත්වා ගැනීමට උත්සහ කරයි (නිච්ච).

ඔබේ සිතේ ඇති වූ ප්‍රිය වේදනාව වේගයක්, දැඩි වේදනාවක්, ආවේගයක් තුළින් චිත්තා වේගයක් බවට පත් වෙලා සියොලඟ මත් කරවන රාග ගතියක් (සං ගතියක්) කිළිටි වූ ශක්තියක් උපදවයි.මේ ‘පටි ඉච්ච’ වීම නිසා ‘සං උත්පාදනය’ වීමයි. සංඛාරයක් ක්‍රියාත්මක වීමෙන් ‘අනුසය’ ඉපදීම එනම් සං උදය වීම හෙවත් සමුදය උත්පාදනය වීම ලෙසින් ද මෙය හඳුන්වයි. ඔබ කැමති ආකාරයට ම යමක් සිදු වෙන අවස්ථාවක දී, යම් වස්තුවක් කාන්දමකට ආකර්ෂණය වෙන්නාක් මෙන් ඔබව එම ප්‍රිය දෙය ඔස්සේ ඇදී බැඳී යන්නේ ඔබ විසින් පෙර උපදවා ගත් ඔබේ සිතේ (චිත්තසංථානයේ) තැන්පත්ව පවතින රාග ගති වලින් (ආසය) දෙන්නා වූ බලය තල්ලුව නිසාය. එම තල්ලුව නිසාම නැවතත් ඔබ රාග ගති ලක්ෂණයක් උපදවා එම බලය තවදුරටත් ශක්තිමත් කර ගනියි. (සූ.දේ.3/ සූ.දේ.4/ සූ.දේ.10)

හැමවිටම ඔබ ‘අකමැති දෙයක් සිදු නොවීම’ ඔබේ කැමැත්තයි. ඔබේ කැමැත්ත පරිදි ම (ඉච්ච) යමක් සිදු නොවන විට, එනම් ඔබ අකමැති දෙයක් සිදු වෙන විට ඔබේ සිතේ අප්‍රිය වේදනාවක්, දුක වේදනාවක් ඇති වෙයි. එම අකමැති දෙය සිදුවීම නිසා ඔබ ‘අන්තගාමීව’ එයට ගැටෙමින් ක්‍රියා කරයි. ඔබ අකමැති එනම් අප්‍රිය කරන දෙයකට අන්තගාමී ව ගැටෙන්නේ ද විරුද්ධව ක්‍රියා කරන්නේ ද කැමැත්තෙන්ම යි (පටි ඉච්ච).

ඔබ එම 'අකමැති දෙය තවදුරටත් සිදු නොවන' ලෙසින් (අභි ඉච්ච) නිශ්චිතව ම පවත්වා ගැනීමට දිගින් දිගටම උත්සහ කරයි (නිච්ච). 'ඔබ කැමති ආකාරයට ම යම් දෙයක් නිශ්චිතව ම පවත්වා ගන්නට දරණ උත්සාහය' (නිච්ච) අසාර්ථක වූ විට එනම් එය එසේ සිදු නොවන විට (නනිච්ච =අනිච්ච) ඔබට දුක ගෙන දෙයි. ඔබ කැමති වූ සුබ වූ ආකාරය එහි දෙවෙනි වේෂයට පෙරළීම නිසා ඔබට දුක් දොම්නස් උරුම වෙයි. (සූ.දේ.5)

ඔබේ සිතේ ඇති වූ අප්‍රිය වේදනාව වේගයක්, දැඩි වේදනාවක්, ආවේගයක් තුළින් චිත්තා වේගයක් බවට පත් වෙලා සියොලඟ රත් කරවන ද්වේෂ ගතියක් (සං ගතියක්) කිළිටි වූ ශක්තියක් උපදවයි. මේ 'පටි ඉච්ච' වීම නිසා 'සං උත්පාදනය' වීමයි. සංඛාරයක් ක්‍රියාත්මක වීමෙන් 'අනුසය' ඉපදීම එනම් සං උදය වීම හෙවත් සමුදය උත්පාදනය වීම ලෙසින් ද මෙය හඳුන්වයි. ඔබ අකමැති දෙයක් සිදු වෙන අවස්ථාවක දී, යම් වස්තුවක් කාන්දමකට විකර්ෂණය වෙන්නාක් මෙන් ඔබ අප්‍රිය කරන දෙයින් වෙන් වීමට කටයුතු කරන්නේ ඔබ විසින් පෙර උපදවා ගත් සිතේ (චිත්ත සංථානයේ) තැන්පත්ව පවතින ද්වේෂ ගති වලින් (ආසය) දෙන්නා වූ බලය තල්ලුව නිසාය. එම තල්ලුව නිසාම නැවතත් ඔබ ද්වේෂ ගති ලක්ෂණයක් උපදවා එම බලය තවදුරටත් ශක්තිමත් කර ගනියි. (සූ.දේ.4/ සූ.දේ.10)

ලොව්තුරා  බුදු පියාණන් වහන්සේ පර්යේෂණාත්මකව ම තම ස්වං භූ ඥානයෙන්ම අත් දැක නිරාවරණය කළේ මෙම 'පටිච්ච සමුප්පාද ධම්මතාවයයි', හේතුඵල දහමයි. බුදුන් වහන්සේ ලෝකයාට හෙළි කළ වදාළ අවිද්‍යාමූල පටිච්චසමුප්පාද ධම්මතාවයෙන් පෙන්වා දුන්නේ සත්ත්වයන් තුළ අවිද්‍යාව මුල් වීමෙන් සං ගති හෙවත් රාග, ද්වේෂ, මෝහ ගති සකස් කරන ආකාරයයි. අවිද්‍යාමූල පටිච්ච සමුප්පාදය තමන් තුළ ක්‍රියාත්මක වන ආකාරය දැක ගත් කෙනෙකුට ම පමණක්  තම තමන් තුළ සං ගති උපදීම නිසා දුක් ගිනි උපදින ආකාරය දැක ගත හැකිය. (සූ.දේ.4)

ඔබේ සිත ඉල්ලන්නේත් ඔබේ සිතේ කැමත්ත වන්නේත් සැමවිට ම ඔබ කැමති දේ කරන අකමැති දේ නොකරන ඔබ ආශා කරන ආකාරයේ ගති ගුණ වලින් යුක්ත වූ සැමියෙක් හෝ බිරිඳකි. ඒ ඔබේ සිත තුළ ඔබ විසින් ම ගොඩ නගා ගත් සැමියාගේ හෝ බිරිඳගේ ප්‍රතිබිම්බයයි. එම ප්‍රතිබිම්බය නිර්මාණය වුයේ කෙසේ ද? කවදා  සිට ද?

ඔබ ඔහු හෝ ඇය ඇසුරු කිරීමට පටන් ගත් මුල් දවස ඔබට මතක ද? ඔබේ ජීවිතයේ දී ඔබට මුණ ගැසුණු දහසක් අය අතරින් ඔහු හෝ ඇය කෙරෙහි ඔබේ සිත දිව ගියේ ඇයි? ඔහු හෝ ඇය ගැන ඔබේ සිතේ කැමැත්තක් ඇති වුණේ ඇයි? පරික්ෂාකාරිව ඔබ කල්පනා කර බැලුවහොත් ඔබ තේරුම් ගනීවි ඔබේ සිතේ ඒ ගති රුවට, කට හඬට,

හැසිරීමට, කැමැත්තක් ඇති වී තිබෙන බව. සැබවින් ම ඔබ කැමති ආකාරයේ ගති රුවක්, කට හඬක්, හැසිරීමක් ඔහු හෝ ඇය සතු වුව ද, ඒ ආකාරයේ ස්වරූපයකට ඔබේ සිතේ කැමත්තක් ඇති වූයේ ඔබ තුළ ම වූ එවැනි ම ගති ලක්ෂණ නිසා නොවේ ද? එලෙස ආරම්භ වූ සම්බන්ධකම කෙමෙන් කෙමෙන් දළුලා වැඩුණේ කෙසේ ද? (සූ.දේ.6)

ඔහු හෝ ඇය හැමවිට ම ඔබ ආස කරන දේ ඔබට ගෙනත් දෙයි. ඔබ ආස කරන විදිහට කථා බහ කරයි. ඔබ කැමති ආකාරයට වැඩ කටයුතු සිදු කරයි. ඔබ අකැමැති දේවල් සිදු වූ අවස්ථා ද නැතුවා නොවෙයි. එවැනි අවස්ථාවල දී නැවත එවැනි දේ නොකරන බවට ඔහු හෝ ඇය ඔබට පොරොන්දු වෙයි. ඔහු හෝ ඇය කැමති ආකාරයට ඔබ ද ඔබේ ජීවිතය හැඩගස්වා ගනියි. ඔහු හෝ ඇය ඔබ තුළිනුත්, ඔබ ඔහු හෝ ඇය තුළිනුත් එකිනෙකා කැමති වූ ලෝකය කෙමෙන් කෙමෙන් නිර්මාණය කර ගනියි. ඒ තුළින් සම්බන්ධතාවය වඩාත් ශක්තිමත් වෙයි. මේ සම්මත ලෝකයේ ආදරයයි. විවාහ දිවියකට යොමු වීමයි.

සැබවින් ම ඔබ කැමති ආකාරයට ඔහු හෝ ඇය හැඩ ගැසුණ ද, ඒ ඒ ආකාරයේ ස්වරූපයන්ට හැසිරීම්වලට ඔබේ සිතේ කැමත්තක් ඇති වූයේ ඔබ තුළම වූ එවැනිම ගති ලක්ෂණ නිසා නොවේ ද? එසේ නම් ඔබ ආදරය කළේ කාටද? ඔබේ සැමියාට ද? ඔබේ බිරිඳට ද? ඔහු හෝ ඇය ඔබ

වෙනුවෙන් කළ කී දෙයට ද? මේ සම්බන්ධය කුමක් ද? ඔබ ඔහු හෝ ඇය හා කටයුතු කරන විට වෙලාවකට සතුටුයි වෙලාවකට දුකයි, මෙහෙම වෙන්නේ ඇයි? ඔබ තුළ මතු වෙන්නේ ප්‍රශ්න රැසකි. මේ ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු ලබා ගැනීමට ඔබ ගත කරන ජීවිතය තුළ සිදු වෙන සියලු අත්දැකීම් උපකාර කර ගන්න.

'මට නොවෙයි ඔබ ආදරේ කළේ මගෙන් ලද ආදරේට පමණයි ඔබ ආදරේ කළේ' ඔබ අසා ඇති සින්දුවක පද පේළි කිහිපයක් මතකයට නැගෙයි. මතුපිටින් බැලූ විට නොපෙනෙන මහ ගැඹුරු සම්බන්ධතාවයක් මෙහි අන්තර්ගතය. ඔබේ සැමියා හෝ බිරිඳ විසින් ඔබ කැමති දේ සිදු කළ විට ඔබ තුළ ඇති වෙන්නේ සතුටකි. ඔහු හෝ ඇය කෙරෙහි ආදරයකි. එසේ සිදු නොකළ විට ඔබ තුළ ඇති වෙන්නේ දුකකි. ඔහු හෝ ඇය කෙරෙහි තරහවකි. එසේ නම් මේ ආදරය, තරහව සිත තුළ ඇති වෙන ආකාරය පුදුමාකාරය.

'ආදරයයි වෛරයයි අතර ඇත්තේ කෙස් ගහක පරතරයකි' මෙය සැබෑවක් බව ඔබට හැඟෙයි. මෙම පරතරය කුමක් ද? එය කෙසේ ඇති වූවක් ද? ඔබ මේ ගැන තවදුරටත් ගැඹුරින් කල්පනා කොට සිතා බලන්න. ඒ සඳහා ම ඔබේ ජීවිතයේ සිදු වෙන මෙවැනි සිදුවීම් උපකාර කර ගන්න.

## 6. වෙලාවකට දුකයි වෙලාවකට සැපයි

උපන් මොහොතේ සිට මේ දක්වා ඔබ කොපමණ වතාවක් අඬන්නට ඇති ද? සතුටින් සිනා සෙන්නට ඇති ද? අහස පොළව ගැටලන්නට මෙන් ඒ මේ අත සිත දුවමින් ජීවිතේ ප්‍රශ්න ගැටලු හමුවේ කල්පනා කරන්නට ඇති ද?

ඔබ ජීවිතයේ සතුටු වුණු අවස්ථා අනන්තවත් ඇති. හිනා වෙලා විහිළු තහළු කරමින් ඒ විදිහට සතුටු වුණේ ඇයි? ඒ ඔබ කැමති ආස කරන දෙවල්, පුද්ගලයෝ, අවස්ථා ඔබට ලැබුණ නිසා නොවේ ද? මේ ඇරෙන්නට වෙනත් හේතුවක් තිබේ දැයි හොඳින් කල්පනා කර බලන්න.

බොහොමයක් අවස්ථාවන්වල දී ඔබේ සිතේ සුව වේදනාවන් ඇති වෙලා නැති වෙලා ගිය බවත්, ඒ ගැන සිතේ රත්වීමක් මත්වීමක් ඇති නොවුණ බවත් ඔබ අත් දැක ඇත. නො එසේ නම්, ඔබ විසින් ම හොඳින් විමර්ශනය කරමින් එවැනි අවස්ථාවන් අත් දැක ගන්න.

ඒ වගේම සමහර අවස්ථාවන්වල දී, ඔබ ඔබේ සිතට දැනුණ සුඛ, සුව, සැප වේදනාවන් (ප්‍රිය වේදනාවන්) දිගේ සිත ඒ මේ අත රෝද වෙමින් විවිධාකාර වූ සිතුවිලි ඇති කර ගනිමින් (සං චේතනා) සිතින් කොච්චර නම් පිනව පිනවා තව තවත් බලවත් වූ සුඛ වේදනා (සාමිස සුඛ වේදනා) විඳින්නට ඇති ද? ඒ අවස්ථාවන්වල දී ඔබේ සිත රත් වෙලා

මත් වෙලා ගිනි ගත්තු හැටි ඔබට මතක ද? නො එසේ නම්, ඔබ විසින් ම හොඳින් විමර්ශනය කරමින් එවැනි අවස්ථාවන් අත් දැක ගන්න. (සූ.දේ.4/සූ.දේ.7)

එසේ ඒ ඒ ආකාරයේ ස්වරූපයන්ට හැසිරීම්වලට ඔබේ සිතේ කැමත්තක් ඇති වූයේ ඔබ තුළ ම පවතින ගති ලක්ෂණ නිසා නොවේ ද? එසේ නම් මේ සියලු ගති, ඔබ තුළින් මතු වූයේ ඔබ තුළ ම තැන්පත් වී පැවති නිසා නොවේ ද? මෙසේ යළි යළිත් ඔබේ සිතේ ඇති වෙන සුව වේදනාවන් ඔස්සේ වේගයක්, දැඩි වේදනාවක්, ආවේගයක් තුළින් චිත්තා වේගයක් බවට පත් වෙලා සියොලඟ දවා හරින කිළිටි වූ ශක්තියක් (සං ගතියක්) ඉපදීම නිසා ම එම කිළිටි ගති තව තවත් බලවත් වන බව ඔබ නොදන්නා පරම සත්‍යය යි. මෙසේ ඔබ යළි යළිත් කම්ම බීජ හෙවත් සං ගති උපදවා ඔබේ සිතේ (චිත්තසංථානයේ) 'රාග ගති' තැන්පත් කරයි. එම රාග ගති තව තවත් බලවත් කර ගනියි. (සූ.දේ.1/සූ.දේ.6)

ඒවගේ ම බොහොමයක් අවස්ථාවන්වල දී ඔබේ සිතේ දුක් වේදනාවන් ඇති වෙලා නැති වෙලා ගිය බවත් ඒ ඔස්සේ සිත ඒ මේ අත රෝද වෙමින් සිතේ රත්වීමක් දැවිල්ලක් තැවිල්ලක් පිච්චීමක් ඇති නොවුණ බවත් ඔබ අත් දැක ඇත. නො එසේ නම්, ඔබ විසින් ම හොඳින් විමර්ෂණය කරමින් එවැනි අවස්ථාවන් අත් දැක ගන්න.

ඒවගේ ම සමහර අවස්ථාවන්වල දී ඔබේ සිතේ ඇති වූ දුක වේදනාවන් (අප්‍රිය වේදනාවන්) දිගේ සිත ඒ මේ අත රෝද වෙමින් විවිධාකාර වූ සිතුවිලි ඇති කර ගනිමින් (සංචේතනා) සිතින් කොච්චර නම්, විඳව විඳවා තව තවත් බලවත් වූ දුක් වේදනා (සාමිස දුඛ වේදනා) විඳින්නට ඇතිද? එවැනි අවස්ථාවන්වල දී, ඔබේ සිත රත් වෙලා මත් වෙලා තැවිලා පිච්චිලා ගිනි ගත්තු හැටි ඔබට මතක ද? නො එසේ නම්, ඔබ විසින් ම හොඳින් විමර්ශනය කරමින් එවැනි අවස්ථාවන් අත් දැක ගන්න. (සූ.දේ.4/සූ.දේ.7)

ඔබ පොඩ්ඩක් කල්පනා කරලා බලන්න. ඔබ ඇඬුවේ දුක් වුණේ ඇයි? එක්කෝ 'තමන් කැමති දෙයක්' තමන්ට නොලැබුණ නිසා. එහෙම නැත්නම් 'තමන් කැමති දෙයක්' තමන් කැමති ආකාරයට සුළු වෙලාවකට වඩා පවත්වා ගෙන යාමට බැරි වුණ නිසා. එහෙමත් නැත්නම් 'තමන් අකමැති වූ දෙයක්' තමන්ට ලැබුණ නිසා. මේ ඇරෙන්නට වෙනත් හේතුවක් තිබේ දැයි, ඔබ හොඳින් විමර්ශනය කර බලන්න. (සූ.දේ.5)

එසේ ඒ ඒ ආකාරයේ ස්වරූපයන්ට හැසිරීම්වලට ඔබේ සිතේ කැමත්තක් ඇති වූයේ ඔබ තුළ පවතින ගති ලක්ෂණ නිසා නොවේ ද? එසේ නම් මේ සියලු ගති ඔබ තුළින් මතු වූයේ ඔබ තුළ ම තැන්පත් වී පැවති නිසා නොවේ ද? මෙසේ යළි යළිත් ඔබේ සිතේ ඇති වෙන දුක් වේදනාවන් ඔස්සේ

වේගයක්, දැඩි වේදනාවක්, ආවේගයක් තුළින් චිත්තා වේගයක් බවට පත් වෙලා සියොලඟ දවා හරින කිළිටි වූ ශක්තියක් (සං ගතියක්) ඉපදීම නිසා ම එම කිළිටි ගති තව තවත් බලවත් වන බව ඔබ නොදන්නා පරම සත්‍යය යි. මෙසේ ඔබ යළි යළිත් කම්ම බීජ හෙවත් සං ගති උපදවා ඔබේ සිතේ (චිත්තසංථානයේ) 'ද්වේෂ ගති' තැන්පත් කරයි. එම ද්වේෂ ගති තව තවත් බලවත් කර ගනියි. (සූ.දේ.1/සූ.දේ.6)

ඒ වගේම ඔබ, ජීවිතේ ප්‍රශ්න ගැටලු හමුවේ අහස පොළව ගැටලන්නට මෙන් කල්පනා කරමින් ඒ මේ අත සිත දුවමින් කැමැත්ත සහ අකමැත්ත අතර ප්‍රිය සහ අප්‍රිය අතර වැරදි සේ මනිමින් ප්‍රිය අප්‍රිය වේදනාවන් (අදුක්ඛම අසුඛ වේදනාවන්) විඳින්නට ඇති. ඒ ඔබ කැමති ආස කරන දේවල් පුද්ගලයෝ අවස්ථා මෙන් ම ඔබ අකමැති දේවල් පුද්ගලයෝ අවස්ථා සම්බන්ධව වැරදි සේ මනිමින් ඒ මේ අත සිත දෝලනය වෙමින් කටයුතු කරන්නට සිදුවීම නිසා නොවේ ද?

බොහොමයක් අවස්ථාවන්වල දී, අදුක්ඛම අසුඛ වේදනාවන් ඇති වෙලා නැති වෙලා ගිය බවත් ඒ ගැන සිතේ වෙහෙසක් විඩාවක් තෙහෙට්ටුවක් ඇති නොවුණ  බවත් ඔබ අත් දැක ඇත. නො එසේ නම්, ඔබ විසින් ම හොඳින් විමර්ශනය කරමින් එවැනි අවස්ථාවන්  අත් දැක ගන්න.

ඒවගේම සමහර අවස්ථාවන්වල දී, ඔබ ඔබේ සිතට දැනුණ අදුක්ඛම අසුඛ වේදනාවන් (ප්‍රිය අප්‍රිය වේදනාවන්) දිගේ

ඔබේ සිත ඒ මේ අත රෝද වෙමින් විවිධාකාර වූ සිතුවිලි ඇති කර ගනිමින් (සං චේතනා) වැරදි ආකාරයට මැන මැන සිතින් කොච්චර නම් තව තවත් බලවත් වූ අදුක්ඛම අසුඛ වේදනා (සාමිස අදුක්ඛම අසුඛ වේදනා) විඳින්නට ඇති ද? ඒ අවස්ථාවේ දී ඔබේ සිතට බයක් බරක් බැම්මක් පීඩනයක් තෙහෙට්ටුවක් වෙහෙසක් දැනුණු හැටි ඔබට මතක ද? නො එසේ නම්, ඔබ විසින් ම හොඳින් විමර්ශනය කරමින් එවැනි අවස්ථාවන් අත් දැක ගන්න. (සූ.දේ.4/සූ.දේ.7)

එසේ ඒ ඒ ආකාරයේ ස්වරූපයන්ට හැසිරීම්වලට ඔබේ සිතේ කැමත්තක් ඇති වූයේ ඔබ තුළ පවතින ගති ලක්ෂණ නිසා නොවේ ද? එසේ නම් මේ සියලු ගති ඔබ තුළින් මතු වූයේ ඔබ තුළ ම තැන්පත් වී පවතින නිසා නොවේ ද? මෙසේ යළි යළිත් ඔබේ සිතේ ඇති වෙන ප්‍රිය අප්‍රිය වේදනාව ඔස්සේ වේගයක්, දැඩි වේදනාවක්, ආවේගයක් තුළින් චිත්තා වේගයක් බවට පත් වෙලා සියොලඟ දවා හරින කිළිටි වූ ශක්තියක් (සං ගතියක්) ඉපදීම නිසා ම එම කිළිටි ගති තව තවත් බලවත් වන බව ඔබ නොදන්නා පරම සත්‍යය යි. මෙසේ ඔබ යළි යළිත් කම්ම බීජ හෙවත් සං ගති උපදවා ඔබේ සිතේ (චිත්තසංථානයේ) 'මෝහ ගති' තැන්පත් කරයි. මෙසේ ඔබේ ශරීරයේ තුන් දොස් කිපීමෙන් මෝහ ගති බලවත් වීමෙන් වාත රෝගද, ද්වේෂ ගති බලවත් වීමෙන් පිත් රෝගද, රාග ගති බලවත් වීමෙන් සෙම් රෝග ද හට ගනියි. (සූ.දේ.1/සූ.දේ.6)

මෙසේ ඔබට දැනෙන දුක වේදනාවක් දිගේ විඳව විඳවා හෝ සුබ වේදනාවක් දිගේ පිනව පිනවා හෝ අදුක්ඛම අසුබ වේදනාවක් දිගේ වැරදි ආකාරයට මැන මැන හෝ ඔබ ලබන ආමිස සුවය හෝ වඩා බලවත්ව දැනෙන සාමිස සුවය හෝ ඔබට පවත්වා ගැනීමට හැකි වුයේ කොපමණ කාලයක් ද? මේ සියලු වේදනා බිහි වෙලා, ඇති වෙලා, තාවකාලික වූ සුවයක් ලබා දී , ඒ සුවයත් ටික වේලාවකට පසු වෙනස් වී ගෙවී විනාශ වී යන බව එනම් 'විපරිණාමයට' පත් වෙන බව අවධානයෙන් නිරීක්ෂණය කරමින් ඔබ විසින් ම අත් දැක ගන්න.ඔබට මතක් කර ගන්න පුළුවන් ඔබට දැනුණ ඒ ආස්වාදය සාමිස සුවය ටික වෙලාවක් පැවතිලා, සමහර විට පැයක් දෙකක් පැවතිලා දවසක් දෙකක් තුළ නැවත නැවතත් මතක් වෙලා පැවතිලා නැති වෙලා ගිය බව. (සූ.දේ.5/ සූ.දේ.7)

එවැනි බොහොමයක් අවස්ථාවන්වල දී, ඉහත සඳහන් ආකාරයට බිහි වෙලා ඇති වෙලා තාවකාලික වූ සුවයක් ලබා ඒ සුවයත් නැති වෙලා ගෙවී විනාශ වී යන, සාමිස දුබ වේදනා හෝ සාමිස සුබ වේදනා හෝ සාමිස අදුක්ඛම අසුබ වේදනා නැවත නැවතත් විඳින්නට ලබන්නට ඔබ උත්සහ කළ වාර අවස්ථා අනන්තවත් ඇති.

පෙර සඳහන් කළ සිදුවීමක් නැවත සිහිපත් කර ගන්න. දිනක් මිනිසෙක් ඔහු සතු අනර්ඝ මෝටර් රථයකින් ගමනක්

යන අතර තුර හදිසියේ ම පාරේ ඉදිරියට පැමිණි බල්ලෙකු නිසා ඔහුට රථය පාලනය කර ගත නොහැකිව අසල තිබුණු ගසක වැදී මෝටර් රථයට දැඩි අලාභ හානි සිදු විය. එයින් ඔහුත් ඔහුගේ බිරිඳත් ඉවසා ගත නොහැකි තරම් වූ දුකට පත් වූහ. එසේ ඔවුන්ට දුක ගෙන දුන්නේ ඔවුන් විසින් එම මෝටර් රථයෙන් ලැබූ සුව පහසුව එහි අනර්ඝ බව, නැවත නැවතත් ඒ අකාරයට ම ලබා ගන්නට විඳින්නට (සාමිස වේදනා) උත්සහ කළ නිසා නොවේ ද? (සූ.දේ.5)

මේ ආකාරයට ඔබ පරිහරණය කරන බඩු බාහිර ආදිය කෙරෙහි ඇසුරු කරන සත්ත්වයන් පුද්ගලයන් කෙරෙහි ඔබේ සිතේ දැඩි කැමත්තක් හෝ අකමැත්තක් ඇති වෙන්නේ ඔබ තුළ ම පවතින සං ගති ලක්ෂණ නිසා නොවේද? ඔබ කාලයෙන් කාලයට වෙනස් වන ඔබේ කැමැත්ත අකමැත්ත අනුව, නොයෙකුත් බාහිර වස්තු සිද්ධි පුද්ගලයන් කෙරෙහි 'අන්තගාමීව' ඇලීමෙන් හෝ ගැටීමෙන් හෝ මැනීමෙන් කටයුතු කොට වේගයක් වේදනාවක් ආවේගයක් චිත්තා වේගයක් ඔස්සේ නැවත නැවතත් සං ගති උපදවා ගනියි. මෙලෙසින් එම සං ගති තව තවත් බලවත් වෙයි. මෙය ඔබ මෙතෙක් අත් දැක නොමැති පරමාර්ථ සත්‍යයයි. ඔබ එදිනෙදා ජීවිතය ගත කරන විට දකින අහන දැනෙන සිතන සියලු සම්බන්ධතාවයන් තුළින් මෙම පරමාර්ථ සත්‍යය ඔබ විසින් ම අත් දැක ගත යුතුය.

## 7. අසීමාන්තික ලෙස පිනව පිනවා කටයුතු කිරීමෙන් ඔබේ ආශාව දුරු වේවි ද?

ඔබ කුඩා කාලයේ සිට ම ඔබ කැමති දේවල් ඔබ අකමැති දේවල් එනම් ඔබේ ලෝකය කාලයෙන් කාලයට වෙනස් වූ හැටි ඔබට මතක ද? පුංචි කාලයේ දී ඔබ සෙල්ලම් බඩු වලට දැඩි සේ ආශා කළේය. කාටූන් නැරඹීමට ඉතාමත් ප්‍රිය කළේය. ඔබ කැමති දේවල් ඔබට ලැබුණු විට, සිදු වූණු විට ඔබේ සිතේ සුව වේදනාවන් ඇති වුණි. සමහර අවස්ථාවල දී ඔබ ප්‍රිය කරන දේවල් සිදුවීම නිසා ‘අන්තගාමීව’ අසීමාන්තිකව ඔබ සතුටින් පිනා ගිය අවස්ථා ඔබට මතක ද? ඔබ කැමති ඔබේ ප්‍රිය ලෝකය තවදුරටත් පවත්වා ගන්නටත් එවැනි දේ තව තවත් ලබා ගන්නටත් ඔබ කොපමණ උත්සහ කළා ද?

එහෙත් කාලයාගේ ඇවෑමෙන් ඔබ පෙර ආශා කළ සෙල්ලම් බඩුවලට දැන් එසේ ආශා නොකරන බව, කාටූන්වලට දැන් එසේ ආශා නොකරන බව ඔබට හැඟී යයි. එසේ සිදු වූයේ ඇයි? ඒ ඔබ එවැනි දේවල්වලට කුඩා කාලයේ දී අසීමාන්තිකව ලබා දුන් වටිනාකම කැමැත්ත දැන් ලබා නොදෙන නිසා නොවේ ද? එම වටිනාකම් පෙර ලබා දී ඔබ අසීමාන්තික ලෙස ඒ දේවල්වලට ආශා කොට, පිනව පිනවා උපරිමයෙන් ම සතුටු වූ නිසා ම ඒ දේවල්වලට තිබුණු ඔබේ කැමැත්ත ආශාව දුරු වී හීන වී ගියා ද?

මේ ආකාරයට ඔබ කැමති දේවල් තවදුරටත් අසීමාන්තික ලෙස සිදු කරමින් ම 'අන්තගාමීව' පිනව පිනවා කටයුතු කිරීමෙන් ම ඔබේ ආශාව එනම් ඔබ තුළ වූ රාග ගති හීන වේවි යැයි දුරු වේවි යැයි ඔබ සිතන්නට පුළුවන. ඇත්තට ම ඔබේ රාග ගති එසේ දුරු වී යනවා නම්, නැවතත් ඔබේ සිත වෙනත් දෙයකට ඇදී බැඳී යන්නේ ඇයි? (සූ.දේ.5)

සැබවින් ම මෙහිදී සිදු වෙන්නේ කුමක් ද? මතු පිටින් බැලූ විට නොපෙනෙන ඉතා ගැඹුරු සම්බන්ධතාවයක් මෙහි අන්තර්ගතය. සැබවින් ම ඔබ කාලයෙන් කාලයට එක් එක් දේවල්වලට ආශා කළේ ඒ ඒ දේවල් ඇසුරින් සතුටක් විඳින්නට කැමත්තක් ඔබේ සිතේ ඇති වුණ නිසයි. ඒ ඒ කාලයන්වල දී ඔබ තුළ විවිධාකාර ආශාවන් ඇති වූයේ ඔබ තුළ තැන්පත්ව පැවති රාග ගති ලක්ෂණ ඉස්මතු වීම නිසා නොවේ ද? ඔබ තුළ තැන්පත්ව පවතින මෙම රාග ගති වලින් දෙන්නා වූ බලය තල්ලුව නිසා ම කාලයෙන් කාලයට ඔබේ සිත විවිධාකාර දේවල් ඔස්සේ 'අන්තගාමීව' ඇදී බැඳී යාමෙන්, ඔබ විසින් නැවත නැවතත් රාග ගති ලක්ෂණ උපදවා එම බලය තවදුරටත් ශක්තිමත් කර ගනියි. (සූ.දේ.6/ සූ.දේ.10)

ඉතා සංකීර්ණ වූ ඉහත මතු කළ ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු සොයා බැලීම ප්‍රායෝගිකව ම සිදු විය යුත්තක් බව ඔබට මනාව වැටහෙනවා ඇත.

# 8. ඔබ නිර්මාණය කර ගත් ඔබේ ලෝකය

ඔබේ සිතට දැඩි දුකක් කනගාටුවක් දැනුණ විට ඔබේ සිතේ ඇති වෙන වේගය වේදනාව ආවේගය තුළින්, වේගය නිසා මත් වෙලා චිත්තා වේගයක් ඇති වෙලා ඔබට ඔබව ම පාලනය කර ගත නොහැකිව ඔබ අන් යට පහර දුන් අවස්ථා බැණ වැදුණ අවස්ථා අනන්තවත් අත් දැක ගෙන ඇති. ඔබට මෙවැනි වෛර සිතක් ඇති වුයේ ඇයි?

ඔබේ සිතේ කැමැත්තට අනුව ඔබ කැමති ආකාරයට ඒ ඒ දේවල් සිදු නොවීම නිසා ඔබේ සිතේ දුක වේදනාවක් ඇති වුණි. එම වේදනාව දිගේ සිතුවිලි පවත් වමින් ඔබේ සිත නානාවිධ වූ හේතූන් ඔස්සේ රෝද ගසයි. එසේ ඔබේ කැමැත්ත සිදු නොවුයේ අන් අයෙකුගේ වරදක් නිසා යැයි ඔවුන්ගේ ක්‍රියා කලාපයන් නිසා යැයි සිතයි. ඔබ මඳකට නැවතී සිතා බලන්න. ඔබේ සිතේ ඔබ විසින් ඇති කර ගත් කැමැත්ත පරිදි ම යම් දෙයක් සිදු නොවීම උදෙසා අන් අයෙකුට දොස් පැවරීම වටිනවා ද කියලා. එම කැමැත්තේ නිර්මාණකරුවා ඔබයි. (සූ.දේ.5)

එසේ ඒ ඒ ආකාරයේ ස්වරූපයන්ට හැසිරීම්වලට බඩු බාහිර ආදියට පුද්ගලයන්ට සත්ත්වයන්ට තාන්න මාන්නවලට ඔබේ සිතේ කැමැත්තක් හෝ අකමැත්තක් ඇති වූයේ එම බාහිර වස්තු තුළින් ඔබ දකිනා ඔබට දැනෙන ස්වභාවයට අනුකූල වූ ගති ලක්ෂණ, ඔබ තුළත් පවතින නිසා නොවේද?

එසේ නම් මේ සියලු ගති ලක්ෂණ ඔබ තුළින් මතු වූයේ ඔබ විසින් පෙර අවස්ථාවලදී මෙම ගති ලක්ෂණ උපදවා ගෙන ඔබ තුළ ම තැන්පත් කර ගෙන සසර ගමනක යෙදෙන නිසා නොවේ ද? (සූ.දේ.6)

ඔබ තුළ තැන්පත් වී පවතින සියලු ගති ලක්ෂණ වලට අනුව ම ඔබ විසින් ඔබේ ප්‍රිය අප්‍රිය (පිරි අපිරි) ලෝකය නිර්මාණය කර ගෙන ඇත. ඔබ එසේ ඔබ කැමති ලෝකයක් සිතින් නිර්මාණය කර ගෙන එය ඔබ කැමති ලෙස ම පවත්වා ගැනීමට උත්සහ කරයි. ඒ අනුව ඔබේ සිතේ බාහිර වස්තු නිමිති කර ගෙන ප්‍රිය වේදනාවන් හෝ අප්‍රිය වේදනාවන් හෝ ප්‍රිය අප්‍රිය වේදනාවන් ඇති වෙයි. (සූ.දේ.5)

මේ වේදනාවන්ගේ ස්වභාවය පුද්ගලයාගෙන් පුද්ගලයාට වෙනස් වෙයි. එසේ වෙනස් වන්නේ එක් එක් පුද්ගලයාගේ චිත්තසංථානයේ තැන්පත්ව පවතින ගති ලක්ෂණ පුද්ගලයාගෙන් පුද්ගලයාට වෙනස් වන නිසාමය. එම වෙනස් වූ ගති ලක්ෂණ වලට අනුව ම  ඔවුන් විසින් ම නිර්මාණය කර ගෙන තිබෙන ඔවුනොවුන්ගේ ප්‍රිය අප්‍රිය ලෝකය හෙවත් කැමැත්ත අකමැත්ත වෙනස්ය. (සූ.දේ.5)

ඔවුනොවුන් එසේ තම කැමැත්ත අනුව තම තමන් ප්‍රිය වූ දෙවල්වලට අන්තගාමී ව ඇලීමෙන් කටයුතු කොට රාග ගති උපදවා ගනිති. තම අකමැත්ත අනුව එනම් තම තමන් අප්‍රිය ලෙස සලකන දේවල් කෙරෙහි 'අන්තගාමීව' ගැටීමෙන්

කටයුතු කොට ද්වේෂ ගති උපදවා ගනිති. තම කැමැත්ත අකමැත්ත අනුව ප්‍රිය බවක් මෙන් ම අප්‍රිය බවක් ඇති වූ දේවල් ඔස්සේ 'අන්තගාමීව' මැනීමෙන් කටයුතු කොට මෝහ ගති උපදවා ගනිති. මෙසේ 'ඔබ අන්තගාමීව ක්‍රියාකිරීම පමණක්' සං ගති උපදවීමට හේතු වෙන බව අත් දැක ගන්න. (සූ.දේ.4)

නැවත නැවතත් රාග ද්වේෂ මෝහ හෙවත් සං ගති උපදවමින් අඳුරු වන එම ලෝකය තුළ වූ පරමාර්ථ සත්‍යය හෙවත් සැබෑ සත්‍යය එනම් 'තම තමන්ගේ ලෝකය සැබෑවට ම ක්‍රියාත්මක වන ආකාරය නොදැකීම' අවිද්‍යාවයි. මෙසේ අවිද්‍යාව මුල් වී සංසාර ගමන දිගු වීමට හේතු වෙන ගති ලක්ෂණ, කර්ම බීජ, සං ගති, ණය ගනුදෙනු, හේතුඵල පරම්පරා හෙවත් සංසාර ගමනට අවශ්‍ය ඉන්ධන තම තමන් විසින් ම උත්පාදනය කර ගනියි. එම ඉන්ධන ම මුල් වී නැවතත් සං ගති උත්පාදනය කරයි. (සූ.දේ.3/ සූ.දේ.10)

මෙසේ ඔබ විසින් සං ගතියක් උත්පාදනය කරන විට, කුරා කුහුඹුවාගේ පටන් සියලු සත්ත්වයන්ගේ ශරීරය වටා පිහිටි 'ඕරා' එක හෙවත් කිරණ වළල්ලේ පැහැය වෙනස් වෙයි. ඔබ තම කැමැත්ත ඔස්සේ ක්‍රියාකරමින් ඔබ ප්‍රිය ලෙස සලකන අවස්ථා සිද්ධි සම්බන්ධව 'අන්තගාමීව' ඇලීමෙන් කටයුතු කොට 'රාග ගතියක්' උපදවන විට, එනම් වෙලාවකට සැප ගෙන දෙන ලෙස 'අන්තගාමීව' කටයුතු

කරන විට, එම කිරණ වළල්ල 'කොළ පැහැයට හුරු නිල් පැහැයක්' පෙන්වයි.

ඔබ තම අකමැත්ත ඔස්සේ ක්‍රියාකරමින් ඔබ අප්‍රිය ලෙස සලකන අවස්ථා සිද්ධි සම්බන්ධව 'අන්තගාමීව ගැටීමෙන්' කටයුතු කොට 'ද්වේෂ ගතියක්' උපදවන විට, එනම් වෙලාවකට දුක ගෙන දෙන ලෙස 'අන්තගාමීව' කටයුතු කරන විට, එම කිරණ වළල්ල 'අඳුරු රතු පැහැයක්' පෙන්වයි. ඔබ ප්‍රිය හෝ අප්‍රිය ලෙස සලකන සමහර අවස්ථා සිද්ධි සම්බන්ධව 'අන්තගාමීව' මැනීමෙන් කටයුතු කොට 'මෝහ ගතියක්' උපදවන විට, එම කිරණ වළල්ල 'දුඹුරු පැහැයට හුරු අඳුරු  කහ පැහැයක්' පෙන්වයි.

මේ ආකාරයට 'වෙලාවකට දුක ගෙන දෙන වෙලාවකට සැප ගෙන දෙන' ඔබ නිර්මාණය කර ගත් ඔබේ ලෝකය ක්‍රියාත්මක වන ආකාරය මෙම පුස්ථකයේ පිටකවරයේ ඇඳ ඇති සිතුවම තුළින් විද්‍යාමාන වන පරමාර්ථ ධර්මයයි. ඔබ ඉහත කියන ලද කරුණු කාරණා සිහිපත් කර ගනිමින්  ඔබ ගැන, ඔබේ ජීවිතය ගැන, ඔබේ  සිත ගැන, ඔබේ සිතේ ඇති වෙන කැමැත්ත සහ අකමැත්තේ ස්වභාවය ගැන, ඔබේ සිතේ තරහව, අධික සතුට මෙන්ම කරුණාව දයාව ඇති වෙන අවස්ථා ගැන විමර්ශනය කරමින් මේ සියලු දේවල් සිදු වෙන හැටි පවතින හැටි, ඔබ තුළින් ම අත් දැක ගැනීමට උත්සහ කරන්න.

## 9. හේතු නිසා ඵලත් එම ඵල මුල් වීමෙන් නැවතත් හේතු සකස් වෙන හැටි

ඔබේ සිතේ ඇති වූ සුව වේදනාවන් ඔස්සේ පිනවා පිනවා කටයුතු කිරීමෙන් හෝ දුක් වේදනාවන් ඔස්සේ විඳව විඳවා කටයුතු කිරීමෙන් හෝ එතරම් සුවයකුත් නැති දුකකුත් නැති අදුක්ඛම අසුඛ වේදනාවන් ඔස්සේ වැරදි සේ මැන මැන කටයුතු කිරීමෙන් අවසානයේ ඔබට හිමි වන්නේ කුමක් දැයි කල්පනා කර බලන්න.

මේ විඳවීම හෝ පිනවීම හෝ වැරදි මැනීම නිසා, ඔබේ සිතට මත්විල්ලක් රත්විල්ලක් තැවිල්ලක් ඇති වෙන හැටි හොඳින් පරික්ෂා කර බලන්න. සිතේ ඇති වෙන මේ ස්වභාවය විකෘති බව අස්වාභාවික බව ඔබ ම අත් දැක ගන්න.

ඔබේ සිතේ ඇති වූයේ පිනවීමක් නම් ඒ පිනවීම පැවතියේ සුළු මොහොතකි. ඔබේ සිතේ ඇති වූයේ විඳවීමක් නම් ඒ විඳවීම ද පැවතියේ සුළු මොහොතකි. ඔබේ සිතේ ඇති වූයේ ප්‍රිය අප්‍රිය අතර මෝහය මුල් වී සිදු කරන වැරදි මැනීමක් නම් ඒ මැනීමද පැවතියේ සුළු මොහොතකි.

මෙසේ, ඔබ එක දිගට ම 'අන්තගාමීව' පිනවා පිනවා තමන් කැමති ආකාරයට පවත්වා ගැනීමට උත්සහ දරණ සාමිස ප්‍රිය වේදනාව ද ඒ වේදනාව ඇති වීමට මුල් වූ නිමිත්ත ද එහි නියත ලක්ෂණයක් වූ වෙනස් වීමකට 'විපරිණාමයට'

භාජනය වෙයි. ඔබ ප්‍රිය කරන දේ නිමිති කොට ඔබ දිගින් දිගට ම විඳින්නට උත්සහ දරන සාමිස ප්‍රිය වේදනාව තවදුරටත් ඔබට නොලැබීම නිසා (පියවිප්පයෝගෝ දුක්ඛා) ඔබට අවසානයේ සෝක පරිදේව දුක් දොම්නස් උපායාස නැමති 'දුක් ගිනි' හෙවත් ඵල නිතැතින් ම උරුම වෙයි. (සූ.දේ.4/සූ.දේ.5)

ඔබට අප්‍රිය වේදනාවක් දැනෙන යම් මොහොතක ඔබ එයින් වෙන් වීමට උත්සහ කරමින් එයට 'අන්තගාමීව' ගැටෙමින් දිගින් දිගටම සිතුවිලි පවත්වමින් විඳව විඳවා කටයුතු කළත්, එම සාමිස අප්‍රිය වේදනාව ද ඒ වේදනාව ඇති වීමට මුල් වූ නිමිත්ත ද එහි නියත ලක්ෂණයක් වූ වෙනස් වීමට 'විපරිණාමයට' භාජනය වෙයි. ඔබ අප්‍රිය කරන දේ නිමිති කොට ඔබ වෙන් වීමට උත්සහ දරණ අප්‍රිය වේදනාව තවදුරටත් ඔබට ලැබීම නිසා (අපියසම්පයෝගෝ දුක්ඛා) ඔබට අවසානයේ සෝක, පරිදේව දුක් දොම්නස් උපායාස නැමති 'දුක් ගිනි' හෙවත් ඵල නිතැතින් ම උරුම වෙයි. (සූ.දේ.4/සූ.දේ.5)

ඔබට එතරම් සුවයකුත් නැති දුකකුත් නැති අදුක්ඛම අසුඛ වේදනාවක් දැනෙන යම් මොහොතක, ඔබ දිගින් දිගටම වැරදි සේ මැන මැන 'අන්තගාමීව' කටයුතු කිරීමෙන් වෙහෙසට පත් වෙයි. එම සාමිස වේදනාව ද ඒ වේදනාව ඇති වීමට මුල් වූ නිමිති ද එහි නියත ලක්ෂණයක් වූ වෙනස් වීමට 'විපරිණාමයට' භාජනය වෙයි. ඔබ කැමති දෙය සිදු

නොවීම නිසා (යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං) ඔබට අවසානයේ සෝක පරිදේව දුක් දොම්නස් උපායාස නැමති ‘දුක් ගිනි’ හෙවත් එල නිතැතින් ම උරුම වෙයි. (සූ.දේ.4/සූ.දේ.5)

ඔබ, ‘ප්‍රිය දෙයකට අන්තගාමීව ඇලීමෙන්ද, අප්‍රිය දෙයකට අන්තගාමීව ගැටීමෙන්ද, ප්‍රිය අප්‍රිය අතර වැරදි සේ අන්තගාමීව මැනිමෙන් ද කටයුතු කිරීම’ යන ‘හේතු’ නිසාම, ඔබට අවසානයේ ‘සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස’ නැමැති දුක් ගිනි, 'එල' නිතැතින්ම උරුම වෙයි. මෙම ‘එල’ ඔබට උරුම වුයේ ඔබ විසින් පෙර සඳහන් කළ ‘හේතු’ කිරීම නිසා බව, ඔබ ‘අන්තගාමීව’ ඔබේ කැමැත්ත උදෙසා කටයුතු කළ නිසා බව ඔබ නොදන්නා පරම සත්‍යයයි. (සූ.දේ.4)

ඔබට මෙවැනි දුක් සෝ සුසුම් උරුම වුයේ අන් අයකුගේ වරදක් නිසා යැයි සිතමින් ඔබ නැවත නැවතත් ඔබේ සිතේ උපදින වේදනාවන්වලට ඇලීමෙන් හෝ ගැටීමෙන් හෝ වැරදි සේ මැනීමෙන් කටයුතු කරයි. නැවතත් කෑදර බව ලෝබ බව..... ආදී රාග ගතිත්, තරහ බව නපුරු බව.... ආදී ද්වේෂ ගතිත්, බුද්ධිමත් බව, රූමත් බව..... ආදී මෝහ ගතිත්, එනම් සං ගති සකස් කරමින් ඔබ තුළ වූ කළු ගති වැඩි කර ගනියි. ‘කළ දේ පල දේ’ යැයි ද ‘අනුන්ට හෑරූ වළේ තමන් වැටෙයි’ යැයි කියන්නේ මෙම සම්බන්ධතාවය ට බව ඔබට තේරුම් ගත හැකිය. (සූ.දේ.4/ සූ.දේ.10)

හේතු නිසා ඵලත්, ඵල නිසා හේතුත් බිහි වෙන ආකාරය තවදුරටත් පැහැදිලි කර ගැනීම සඳහා පහත උදාහරණය සලකා බලන්න.

ඔබේ දියණිය, ඇයගේ සැමියා සහ දරුවන් සමඟ ඔබගේ නිවසේ ජීවත් වෙයි. ඔබගේ දියණිය ද පෙර ඔබ යටතේ හැදුණ වැඩුණ ආකාරයට ම නිවසේ වැඩ පිළිබඳව එතරම් වගකීමක් නොගෙන කටයුතු කරයි. ඒ නිසා ම නිවසේ බොහෝමයක් වැඩ කටයුතු ඔබට තනිව ම සිදු කිරීමට සිදු වී තිබෙයි. ඉඳ හිට හෝ එම වැඩ කටයුතු දුව හෝ ඇයගේ සැමියා සිදු කළ ද, ඔබ බලාපොරොත්තු වෙන ආකාරයට ඔවුන් එම වැඩ කටයුතු සිදු නොකරන නිසා ඔබේ සිතේ අමනාපයක් ඇති වෙයි. මේ නිසා ම, ඔබේ සිතේ තැවිල්ලක්, දැවිල්ලක්, පිච්චීමක් ඇති වෙයි. මෙසේ සිදු වන්නේ ඇයි?

'ඔබගේ නිවසේ පිළිවෙළත්, එහි වැඩ කටයුතු පවත්වා ගෙන යන ආකාරයත් ඔබ කැමති ආකාරයට ම සිදු විය යුතුය' යන කැමැත්තට ඔබ 'අන්තගාමීව' ඇලීමෙන් කටයුතු කිරීම යන හේතුව නිසා ම, එය එසේ සිදු නොවන විට දී ඔබට දුක, කනගාටුව, තැවිල්ල, පිච්චීම යන ඵල උරුම වෙයි. මෙම ගිනි ගැනීම නිසා ම ඔබ එම ගින්නෙන් මිදීමට සිතා ඔබට දැනෙන පීඩාව පිට කරන්නේ දුවටත්, ඇයගේ සැමියාටත් දොස් පවරමිනි. දුවගේ දරුවන්ට ගුටි බැට දීමෙනි.

ඒ නිසා ම නැවත නැවතත් ඔබ ඔවුන් කෙරෙහි කාය ක්‍රියා, වචී ක්‍රියා, මනෝ ක්‍රියා කරමින් උත්සහ කරන්නේ 'ඔවුන්ව ඔබ කැමති ආකාරයට හැසිර වීමටයි'. ඔබ විසින් නැවතත් 'ඔබේ කැමැත්තට අනුව ම අන්තගාමී ව ඇලීමෙන් කටයුතු කිරීම' යන හේතුව සිදු කිරීම නිසා ම, එම කැමැත්ත ද ඔබ කැමැති ආකාරයට ම එසේ සිදු නොවන අවස්ථාවන්වල දී ඔබේ සිතේ තරහව, කෝපය නැවත නැවතත් හට ගනියි. නැවත නැවතත් ඔබේ සිත රත් වී ගිනි ගෙන දුක් දොම්නස් නැමැති ඵල උරුම වෙයි. (සූ.දේ.4 /සූ.දේ.5/සූ.දේ.10)

මෙසේ හේතු නිසා ඵලත්, නැවත එම ඵල මුල් වී හේතුත් සකස් කරමින් ඔබ විසින් නැවත නැවතත් දුක් ගිනි නැමති ඵල උරුම කර ගනියි. මෙය හේතුඵල පරම්පරාවේ නොනවතින ක්‍රියා දාමයයි. මේ නිසා ම ඔබ එක යායට නොනවත්වා ම සංගති බිහි කරයි. එම උපදවාගත් සංගති වලින් දෙන තල්ලුවෙන් නැවතත් කොයි මොහොතක හෝ ගිනි අවුලුවා ගනියි. මෙසේ ඔබ විසින් ම ඇති කර ගන්නා, හේතුඵල පරම්පරාව නිසා ම ඔබේ සසර ගමන නිමා නොවන බව වටහා ගැනීමට ඔබට අපහසු නොවනු ඇත.

'ඔබගේ නිවසේ පිළිවෙළත්, එහි වැඩ කටයුතු පවත්වා ගෙන යන ආකාරයත් ඔබ කැමති ආකාරයට ම සිදු විය යුතුය' යන කැමැත්තට ඔබ 'අන්තගාමීව' ඇලීමෙන් කටයුතු කරයි. 'එම නිවසේ පිළිවෙළ සහ යම් යම් වැඩ

කටයුතු සිදු කළ යුතු ආකාරය' ඔබ තුළ ම වූ ගති ස්වභාවයක් නිසා ම ඔබ විසින් ම නිර්මාණය කළ මිම්මක් නොවේ ද? එම වැඩය තව පුද්ගලයෙක් සිදු කරන්නේ ඔහු හෝ ඇය හොඳ යැයි සලකන ආකාරයකට නොවේ ද? එම ආකාරය ඔවුන් තුළ ම වූ ගති ස්වභාවයන් නිසා ම ඔවුන්ගේ පිරි අපිරි ලෝකයට අනුව නිර්මාණය වූවකි. එම පුද්ගලයාගේ කැමැත්ත අනුව යමක් සිදු නොවන විටකදී ඔහු හෝ ඇය ද තරහින් කටයුතු කොට ද්වේෂ බව උපදවා ගනියි. (සූ.දේ.4/ සූ.දේ.6)

මෙසේ ඔබ තුළ හේතුඵල පරම්පරාවන් ක්‍රියාත්මක වන විට, එම සිදුවීමට සම්බන්ධව කටයුතු කරන අනෙකුත් පුද්ගලයන් තුළත් ඔවුනොවුන්ගේ පිරි අපිරි ලෝකය ක්‍රියාත්මක වීම සිදු විය හැකිය. එක් දැති රෝදයක් මගින් අනෙක් දැති රෝද කරකවන්නාක් මෙන්, ඔවුන්ගේ ගති ස්වභාවයන් අනුව 'ප්‍රිය දේට අන්තගාමීව ඇලීමෙන් හෝ අප්‍රිය දේට අන්තගාමීව ගැටීමෙන් හෝ ප්‍රිය අප්‍රිය අතර අන්තගාමීව වැරදි සේ මැනීමෙන් කටයුතු කිරීම' යන 'හේතු' නිසා ම ඔවුන්ට ද අවසානයේ 'සෝක පරිදේව දුක් දොම්නස්, උපායාස' නැමැති දුක් ගිනි 'ඵල' නිතැතින් ම උරුම වෙයි. ඔවුහු ද දිගින් දිගට ම සංගති උපදවා ගෙන 'සං උපදවීම සාර සේ' දකිමින් සංසාර ගමන දිගු කර ගනිති. (සූ.දේ.1/සූ.දේ.4/ සූ.දේ.5/ සූ.දේ.6/සූ.දේ.10)

# 10. සිතේ ඇති වෙන ස්වාභාවික බව සහ අස්වාභාවික බව

ඔබ යහළුවන් සමග විහිළුවෙන් තහළුවෙන් සිටිනා මොහොතක එක යහළුවෙක් ඉලක්ක කොට ගෙන ඔහුව අපහසුතාවයට ලක් වෙන පරිදි විහිළු තහළු කළ මොහොතක් සිහියට නගා ගන්න. අවසානයේ ඔහු ඔබ සමග අමනාප වී සමහර විටක, අඬමින් එතනින් ඉවත් වූ හැටි ඔබට මතක ද?

ඒ අවස්ථාවේ දී ඔබ සිදු කළ විහිළුවක් නිසා ඔබේ සිතට දැනුණ සුව වේදනාව තවදුරටත් පවත්වා ගැනීමට, ඔබ එසේ එම යහළුවාට දිගින් දිගට ම විහිළු තහළු කළා වන්නට පුළුවන. එහෙම නැත්නම් ඔහු සම්බන්ධයෙන් පෙර ඇති වූ අමනාපකමක් මතක් වීම නිසා, නැවත ඔබේ සිතේ දුක් වේදනාවක් ඇති වීම නිසා ඔබ හිතා මතා ම ඔහුට රිදවීම සඳහා ම, ඒ ඇති වූ දුක් වේදනාව දිගේ විඳව විඳවා 'අන්තගාමීව' කටයුතු කිරීමට එක දිගට ම විහිළු තහළු කළා වන්නට පුළුවන. එසේ සිදු කිරීමෙන් ඔබේ සිතට සතුටක් ඇති වුවා ද? ඒ කුමක් නිසාද? ඔබේ යහළුවා අපහසුතාවයට පත් වෙන හැටි දැකීමෙන් ද? එහෙමත් නැත්නම් ඔහු අඬන හැටි, එම ස්ථානයෙන් ඉවත්ව යන හැටි දැකීමෙන් ද?

නැවත සිතා බලන්න. ඔබ ඒ අවස්ථාවේ එම යහළුවාට සිදු කළේ හිංසාවක්, පීඩාවක් (විහිංසාවක්) නොවේ ද? ඔබ යම් පුද්ගලයෙකුට හෝ සත්ත්වයෙකුට තුවාල සිදු කිරීම, අපහාස කිරීම, නිවට කොට අදයානුකම්පාවෙන් කටයුතු කිරීම හිංසාවක් නොවේ ද? හොඳට කල්පනා කරලා සිතලා බලන්න.ඔබ අනුනට හිංසා කළ විට ඔබේ සිතට කොයි තරම් දැවිල්ලක් පිච්චිල්ලක් රත්විල්ලක් තැවිල්ලක් මත්වීමක් දැනෙනව ද? කියලා. ඒ ඔබ පෙර විදි ආස්වාදයෙන් ඔබට උරුම වූ ආදීනවයි. සිතේ ඇති වෙන මේ ස්වභාවය විකෘති බව ‘අස්වාභාවික බව’ ඔබ ම අත් දැක ගන්න. (සූ.දේ.5/ සූ.දේ.8)

සමහර විටක මේ සිදු වූ දෙය ගැන, ඔබට ගානක්වත් නැති වන්නට ද පුළුවන. ඒ ඔබට දැනුණු සුව වේදනාව හෝ දුක් වේදනාව ඇති වී නැති වී යාමත්, ඒ වේදනාව දිගේ සිත උඩු දිවීමක් හෝ රෝද වීමක් (සංචේතනා පැවැත්වීමක්) සිදු නොවුණු නිසා නොවේ ද ? ඔබ එසේ විහිළු කළේ සිතා මතාම ඔබට සතුටු වීමට හෝ ඔහුව අපහසුතාවයට පත් කිරීමට හෝ නොවන නිසාවෙනි. ඔබ ඒ සිද්ධිය හෝ පුද්ගලයාව සිතින් අල්ලා බදා ගැනීමක් (උපාදානයක්) සිදු නොවීම නිසාවෙනි. ඒ බව හරියට ම හඳුනා ගත හැකි වන්නේ ද ඔබටමයි. ඒ ඔබේ සිත ගැන දන්නේ දකින්නේ ඔබ ම නිසාවෙනි. සිතේ ඇති වෙන මේ ස්වභාවය ‘ස්වාභාවික බව’ ඔබ ම අත් දැක ගන්න. (සූ.දේ.7)

ඔබේ වචන නිසා, ඔබේ ක්‍රියා කලාපයන් නිසා තව අයෙකුට හිංසාවක් පීඩාවක් ගෙන දුන්නා නම්, ඔබ ඔහු සමග සසර දිගු කර ගැනීමට හේතු වෙන ණය ගනු දෙනුවක්, සං ගතියක්, 'කරුවක්' සකස් කර ගනියි. ඔබ කරුණාවෙන් කටයුතු කරන විට මෙවැනි 'කරු' ඇති නොවෙයි (ණා). මෙසේ වන්නේ ඔබ තුළ යම් මට්ටමකට පවතින 'කරුණා' නම් වූ සිත නිවෙන මිදෙන සුදු ගතියක් (සුගති) නැවත ඇති වූ නිසයි. සිතේ ඇති වෙන මේ ස්වභාවය 'ස්වාභාවික බව' ඔබ ම අත් දැක ගන්න. (සූ.දේ.8)

ඔබේ යහළුවෙක් යම් විභාගයක් ඉහලින් සමත් වී ඔබ අසමත් වී හෝ ඔහුට වඩා අඩු ලකුණු මට්ටමක් ලබා ඇති අවස්ථාවක දී, ඔබේ සිතට දැනෙන හැඟීම කෙබඳු ද? ඔබට ඔබේ යහළුවාට මුළු හදවතින් ම සුබ පතා ඔහුගේ සමත් වීම පිළිබඳව, තමන්ට කර ගැනීමට බැරි වුණ දේ අනෙක් කෙනෙකු සිදු කර ගැනීම ගැන අවංකව ම සතුටට පත් විය හැකි ද? නො එසේ නම්, ඔබේ සිතේ ඔහු කෙරෙහි ඊර්ෂ්‍යා සහගත හැඟීමක් ඇති වන්නේ ද?

ඔබ මෙවැනි සිදුවීමක් අත් දැක ඇත් නම් නැවත කල්පනා කර බලන්න. ඔබේ සිතට ඊර්ෂ්‍යා සහගත හැඟීමක් දැනෙන විට ඔබේ සිත රත් වෙන හැටි, මත් වෙන හැටි, ගිනි ගන්නා හැටි, සිතට බරක් දැනෙන හැටි සිතේ ඇති වෙන මේ ස්වභාවය විකෘති බව 'අස්වාභාවික බව' ඔබ ම අත් දැක

ගන්න. මෙම විකෘති බව ඔබට ඔබේ මුහුණින් පවා දැක ගත හැකිය. මෙසේ වන්නේ ඔබේ සිතේ 'අරතිය' නම් වූ ඉස්සා මජ්ජරිය බවක් මකු බවක් ඊර්ෂ්‍යා බවක් සිත කිළිටි කරන කළු ගතියක් ඇති වූ නිසයි (දුගති). මෙසේ ඔබ තම තමන්ගේ පිරි අපිරි ලෝකය සැබෑවට ම ක්‍රියාත්මක වන ආකාරය නොදැකීම නිසාම අවිද්‍යාව මුල් වී සංසාර ගමන දිගු වීමට හේතු වෙන ගති ලක්ෂණ, කර්ම බීජ, සං ගති, ණය ගනුදෙනු, හේතුඵල පරම්පරා හෙවත් සංසාර ගමනට අවශ්‍ය ඉන්ධන උත්පාදනය කර ගනියි. (සූ.දේ.1/ සූ.දේ.4)

යහළුවාගේ සමත් වීම ගැන ඔබේ සිතට දැනෙන්නේ සුව වේදනාවක් නම් ඔබට ඔහුට හදවතින් ම සුබ පැතිය හැකි නම්, ඒ ඔබ තුළ 'මුදිතා' නම් වූ සිත නිවෙන මිදෙන සුදු ගතියක් (සුගති) ඇති වූ නිසයි. සිතේ ඇති වෙන මේ ස්වභාවය 'ස්වාභාවික බව' ඔබ ම අත් දැක ගන්න. (සූ.දේ.8)

ඔබ එම විභාගයෙන් ඉතා උසස් ලෙස සමත් වුයේ නම්, ඔබේ සිත හැසිරෙන ආකාරය විමර්ශනය කරන්න. ඔබේ කැමැත්ත ඉටුවීම නිසා ඔබේ සිතට දැනෙන සුව වේදනාව දිගේ ඔබ පිනවා පිනවා දිගින් දිගට ම සතුටු වන්නට ගිය විටකදී ත්, ඔබේ සිතට බරක්, මත්වීමක් දැනෙයි. ඔබට හරි හැටි නින්ද නොයයි. සමහර විටක ආහාර ගැනීමට පවා එතරම් රුචියක් ඇති නොවෙයි. ඔබේ සාමාර්ථය ගැන ජයග්‍රහණය ගැන අන් අය සමග කතා කරමින් සතුටු වීමට

ඔබට දිගින් දිගට ම හිතෙයි. සිතේ ඇති වෙන මේ ස්වභාවය විකෘති බව 'අස්වාභාවික බව' ඔබ ම අත් දැක ගන්න. මෙසේ වන්නේ ද ඔබේ සිතේ රාග බවක්, මානයක්, උඩඟු බවක් ඇති වූ නිසයි. ඒවා ද සිත කිළිටි කරන කළු ගති වෙයි. එම ගති ස්වාභවයන්ගේ ඉපදීම හරියට ම හඳුනා ගත හැකි වන්නේ ද ඔබටමයි. ඒ ඔබ ගැන ඔබේ සිත ගැන දන්නේ දකින්නේ ඔබ ම නිසාවෙනි. (සූ.දේ.7)

මෙහිදී ද තම තමන්ගේ පිරි අපිරි ලෝකය සැබෑවට ම ක්‍රියාත්මක වන ආකාරය නොදැකීම නිසා ම අවිද්‍යාව මුල් වී සසර දිගු වීමට හේතු වෙන ගති ලක්ෂණ, කර්ම බීජ, සං ගති, ණය ගනුදෙනු, හේතු පල පරම්පරා හෙවත් සංසාර ගමනට අවශ්‍ය ඉන්ධන උත්පාදනය කරයි. (සූ.දේ.3)

ඔබ ඔබේ ජීවිතය සතුටින් ගත කිරීම සඳහා විවිධ ක්‍රියාකාරකම් සිදු කරයි. සමහරු ක්‍රීඩා වලින් ජය ලබා සතුටු වීමට උත්සහ කරති. සමහරු විවිධ නාට්‍යයන්, චිත්‍රපටි, කාටුන් දර්ශන නරඹමින් සතුටු වීමට උත්සහ කරති. සමහරු ගායනයට වාදනයට නර්තනයට සින්දු ඇසීමට ප්‍රිය කරති. තව සමහරු විවිධ වර්ගයේ රස කාරක යෙදු කෑම වර්ග සොයා සොයා රස විඳිමින් සතුටු වීමට උත්සහ කරති. මෙසේ ඔබ මෙවැනි විවිධ ක්‍රියාකාරකම්වල යෙදීමේදී ඔබට දැනෙන සුව වේදනාවන් ඔස්සේ 'අන්තගාමීව' ඇලීමෙන්

කටයුතු කොට නැවත නැවතත් එම ආමිස සුවයන් ලබන්නට කටයුතු කරනවා නේද?

එසේ ඉහත සඳහන් කළ ආකාරයේ විවිධ ක්‍රියාකාරකම්වල යෙදෙන සමහර අවස්ථාවන්වල දී පමණක්, ඔබේ සිත රත් වෙන හැටි මත් වෙන හැටි ගිනි ගන්නා හැටි සිතට බරක් දැනෙන හැටි හොඳින් විමර්ශනය කරමින් ඔබ ම අත් දැක ගන්න. ඔබේ සිතේ ඇති වෙන මේ ස්වභාවය විකෘති බව අස්වාභාවික බව ඔබ ම අත් දැක ගන්න. ඒ බව හරියට ම දැන හඳුනා ගත හැකි වන්නේ ද ඔබටමයි. ඒ ඔබේ සිත ගැන දන්නේ දකින්නේ ඔබ ම නිසාවෙනි. (සූ.දේ.4)

මෙහිදි තම තමන්ගේ පිරි අපිරි ලෝකය සැබෑවට ම ක්‍රියාත්මක වෙන ආකාරය නොදැකීම නිසා ම අවිද්‍යාව මුල් වී සසර දිගු වීමට හේතු වෙන ගති ලක්ෂණ, කර්ම බීජ, සං ගති, ණය ගනුදෙනු, හේතුඵල පරම්පරා හෙවත් සංසාර ගමනට අවශ්‍ය ඉන්ධන උත්පාදනය කරයි. මෙසේ ඔබ ලබන ආමිස සුවය තාවකාලික බවත්, එම සුවය ඔබ කැමති ආකාරයට ම නිශ්චිතව ම පවත්වා ගැනීමට ඔබ දරණ උත්සහය නිෂ්ඵල බවත් හරසුන් බවත් ඔබට ම වැටහෙන්නට ඉඩ හරින්න. ඒ සඳහා ම ඔබ කරන දකින අහන සිතන සියලු ක්‍රියාකාරකම් උපකාර කර ගන්න. (සූ.දේ.3/ සූ.දේ.4/සූ.දේ.5/ සූ.දේ.7)

ඔබ කැමති දෙයක් කැමති ලෙස ම සිදුවීම නිසා ඔබේ සිතට ඉමහත් වූ ප්‍රීතියක් දැනුණ විට සිතට දැනෙන මත්වීමත් එයින් ඔබ මුසපත්ව කටයුතු කරනා ආකාරයත්, ඔබ කැමති දෙයක් කැමති ලෙස ම සිදු නොවීම හෙවත් අකමැති දෙයක් සිදුවීම නිසා ඔබේ සිතට දුකක් දැනුණ විට සිතට දැනෙන දැවීම පිච්චීම තුළත් ඔබේ සාමාන්‍ය හැසිරීම් රටාවෙන් එහා ගිය අස්වාභාවික බවක් තිබෙන බව ඔබ හොඳට පරික්ෂාකාරීව අත් දැක ගන්න. (සූ.දේ.4/ සූ.දේ.5/ සූ.දේ.7)

මෙම 'අස්වාභාවික බව' තුළින් සසර දිගු වීමට හේතු වෙන අනුසය බිහි කරමින් ආසය හෙවත් කර්ම බීජ සං ගති සකස් කරමින් හේතුඵල පරම්පරා මෙන් ම ණය ගනුදෙනු 'ශක්තිමත් කරන බව' ඔබ නොදන්නා පරම සත්‍යයයි. (සූ.දේ.1)

සමහර අවස්ථාවන්වල දී ඔබ මෙවැනි විනෝදය ගෙන දෙන ක්‍රියාකාරකම්වල යෙදෙන විට, ඔබේ සිතේ රත්වීමක් මත්වීමක් ඇති නොවී ම ඔබට දැනුණු සුව වේදනාවන් ඇති වෙලා ටික වේලාවක් පැවතිලා නැති වී ගිය ආකාරය ඔබ අත් දැක ඇත. සිතේ ඇති වෙන මේ ස්වභාවය ස්වාභාවික බව ඔබ ම අත් දැක ගන්න. මෙම 'ස්වාභාවික බව' තුළින් සසර දිගු වීමට හේතු වෙන අනුසය බිහි කරමින් ආසය හෙවත් කර්ම බීජ එනම් සං ගති සකස් කරමින් හේතුඵල

පරම්පරා මෙන් ම ණය ගනුදෙනු 'ශක්තිමත් නොකරන බව' ඔබ නොදන්නා පරම සත්‍යයයි. (සූ.දේ.7)

ඔබ හැමවිට ම උත්සහ කරන්නේ ඔබේ ඇස, කන, නාසය, දිව, ශරීරය, මන 'අන්තගාමීව' පිනවන්නට නොවේ ද? ඔබ කොයි තරම් ඔබේ ඇස, කන, නාසය, දිව, ශරීරය, මන පිනවීමට කටයුතු කළත් ඔබට සෑහීමක් දැන් ඇති යැයි දැනෙනවා ද? ජීවිත කාලය පුරාවට ම ඔබ මෙවැනි ක්‍රියා කෝටි වාරයක් සිදු කළත්, එහි අඩුවක් හිඟයක් මදිකමක් සිතට දැනෙනවාමයි. එසේ දැනෙන්නේ මේ සියල්ලෙන් ලැබෙන ආමිස සුවය තාවකාලික නිසාවෙනි. ඔබ හැමවිට ම ඇති වී නැති වී යන ඒ ආමිස සුවය නැවත නැවතත් සොයයි. ජීවිතේ පවතින තුරාත්, අවසානයේ මිය යන මොහොතේත් ඔබ සොයන්නේ මේ ආමිස සුවයමයි. (සූ.දේ.5)

ඔබ සොයන, ඔබ පතන මේ 'ආමිස සුවය' නැවත නැවතත් ඔබට උරුම කර දීමට නියාම ධම්මතාවන්ට අනුකූලව ඔබ විසින් එකතු කරගත් රාග ද්වේෂ මෝහ ගති වල ප්‍රබලත්වය අනුව, තල 31 හෙවත් ගති 31 පුරා ම (බ්‍රහ්ම තල- 20, දිව්‍ය තල- 6, මිනිස් තල-1, නිරය, තිරිසන්, ප්‍රේත, භූත) ඔබ නැවත නැවතත් ඉපදී ඉපදී, මැරී මැරී නොනවතින සංසාර ගමනක, රිය ගමනක ගමන් කරයි. ඔබ විසින් සංසාර ගමනට හේතු වෙන සං ගති නොනවත්වා ම උපදවන නිසා ම මේ සංසාර ගමන නිමා නොවන බව ඔබට වැටහෙනු ඇත. (සූ.දේ.1)

## 11. පව් වගේම පින් නිසාත් ධ්‍යාන නිසාත් සංසාර ගමන දිගු වෙයි

ලොව සියලු සත්ත්වයෝ තම කැමැත්ත සිදු නොවන විට 'අන්තගාමීව' ගැටෙමින් තරඟින් කටයුතු කරති. එම දුක ඔවුන්ට උරුම වූයේ අන් පුද්ගලයන් නිසා යැයි සිතමින් ඔවුහු අනුනට දොස් පවරමින්, පරුෂ වචනයෙන් බැණ වදිමින්, මුසා බස් කියමින් වචී කම්ම සිදු කර ගනිති. තමන්ට උරුම වූ දුක් ගින්න ඉවසා ගත නොහැකිව අන් අයට පහර දී හිංගි හිංසා අසාධාරණකම් කරමින් කාය කම්ම සිදු කර ගනිති. එම පුද්ගලයන්ට ද අයහපතක් වේවා යැයි සිතමින් ඔවුන් සතු සැප සම්පත් තමා සතු වේවා ආදි ලෙස සිතමින් මනෝ කම්ම සිදු කර ගනිති. (සූ.දේ.9/ සූ.දේ.10)

මේ සියලු වචී කම්ම කාය කම්ම මනෝ කම්ම යන පාප ක්‍රියා හේතුවෙන් රැස් කර ගත් කම්ම බීජ වලට එනම් රාග (ලෝභ) ද්වේෂ මෝහ සං ගති වලට (දුගති) උරුම වූ අයහපත් ඵල විපාක (අපල) වැය කරන්නටත්, එයින් නැවතත් කර්ම බීජ උපද වන්නටත් සත්වයෙක් මරණින් මතු දුගති තල වල එනම් දුගති ලෝක වල යළි උපතක් ලබයි. එම සත්ත්වයා විසින් පෙර පහර දීම් හිංගි හිංසා අසාධාරණකම් සිදු කරනු ලැබූ සත්ත්වයන් පුද්ගලයන් වටා ම ඔහු නැවත නැවතත් උත්පත්තිය ලබයි. (සූ.දේ.1/ සූ.දේ.11)

තව සමහරු මෙවැනි පාප කම්ම සිදු කිරීම නිසා ඔවුන්ට මතු ජාතිවල දී අයහපත් ඵල විපාක උරුම වන බව දැන එවැනි ක්‍රියා වලින් මිදී නිදහස්ව යහපත් ඵල විපාක ගෙන දීමට හේතු වෙන දන් දීම්, මල් පහන් පූජා ආදි පුණ්‍ය ක්‍රියා සිදු කරති. ඔවුහු තාවකලිකව ලෝභය අතහැර අලෝභයෙන්, තාවකලිකව ද්වේෂය අතහැර අද්වේෂයෙන්, තාවකලිකව මෝහය අතහැර අමෝහයෙන්, තමන් සතු බඩු බාහිර ආදිය අන් අයට දන් දෙමින් පහන් සිතින් කටයුතු කොට (හදයං පිනාති පුණ්‍යං) පින් උත්පාදනය කර ගනිති. (සූ.දේ.1/ සූ.දේ.11)

මෙවැනි අවස්ථාවන්වල දී ඔවුහු යළි යළිත් දෙව් මිනිස් සැප සම්පත් වලට කැමැත්තෙන් ආශාවෙන් එවැනි සැප සම්පත් නැවත නැවතත් තමන් ට ලැබේවා! යැයි ප්‍රාර්ථනා කරමින් පුණ්‍ය ක්‍රියා සිදු කරති. ඔවුන් සිදු කළ පුණ්‍ය ක්‍රියාවලට උරුම වූ යහපත් ඵල විපාක (සපල) වැය කරන්නටත්, එයින් නැවතත් කර්ම බීජ උපදවන්නටත් සත්ත්වයෙක් මරණින් මතු සුගති තල වල සුගති ලෝක වල යළි උපතක් ලබයි.

මෙහිදී ඔබ දෙව් මිනිස් සැප සම්පත් නැවත නැවතත් ලබන්නට දැඩි ආශාවකින් ම තම කැමැත්ත ඔස්සේ ‘අන්තගාමීව’ කටයුතු කොට රාග ගතියක් උපදවා ගනියි. එම අවස්ථාවේ දී ඔබ කිළිටි වූ කෙලෙස් සිතක් ඇති කර ගැනීම හේතුවෙන්, ඒ පින අකුසලයක් බවට පත් වෙයි. මෙහිදී කළු ගති හෙවත් ‘කුණු ගති සලා හැරීමක්’ සිදු

නොවන නිසා 'කුසලයක්' සිදු නොවෙයි. ඔබ විසින් සසර දිගු වීමට හේතු වන පිනක් එනම් 'කුණු ගති සලා හැරීමක්' සිදු නොවී 'කුණු අල්ලා ගැනීමක්' සිදු වන නිසා අකුසලයක් සිදු කර ගනියි. ඔබ පැතූ සැප විපාක ඔබට උරුම වීමට ඔබ නැවත නැවතත් තල 31 පුරා ම ඉපදෙමින් මැරෙමින් ගමන් කරයි. එහෙම නම් ඔබ තේරුම් ගනීවි, පින් නිසාත් ඔබ මේ ගමන් කරන සංසාර ගමන දික් වෙන බව.

මෙසේ සත්ත්වයන් තම තමන් නිර්මාණය කර ගත් පිරි අපිරි ලෝකයට අනුව අන්තගාමී ව ඇලෙමින් හෝ ගැටෙමින් අවිද්‍යාවෙන් ම කටයුතු කොට පින්කම් (පුණ්‍යාභිසංඛාර) මෙන්ම පව්කම් (අපුණ්‍යාභිසංඛාර) සිදු කොට ඒවාට උරුම වූ ඵල විපාක උරුම කර ගනිමින්, එයින් නැවත නැවතත් කර්ම බීජ උපදවමින් නොනවතින සංසාර ගමනක යෙදෙති. (සූ.දේ.1/ සූ.දේ.10/සූ.දේ.11/ සූ.දේ.12/ සූ.දේ.13)

තව සමහරු ඇස කන නාසය දිව ශරීරය මන ඔස්සේ හඳුනා ගන්නා සංඥා නිසා එයින් තම තමන්ට සුව හෝ දුක් හෝ වේදනා විඳින්නට සිදු වෙන බව දැන, එම සියලු සංඥාත් වේදනාත් සිත තුළට නොගෙන සිටීමට දැඩි වෙර වීරියකින් කටයුතු කරති. ඔවුහු නොයෙකුත් කසින භාවනා, ප්‍රාණ යාම ආනාපාන භාවනා ආදී සමථ භාවනා ක්‍රම නිරන්තරයෙන් ම බහුලව වඩමින් හුදෙකලාව සමාජයෙන් ඈත් වී ජිවත් වෙති. මෙසේ ඔවුහු රාග ගති ද්වේෂ ගති පමණක් ඉපද වීම

තාවකාලිකව යටපත් කොට එනම් 'දවා හැරීමෙන්' අසීමිත වූ සුවයක් ගෙන දෙන 'ධ්‍යාන සුවය' අත් විඳ ගනිති. එය නිබ්බාන සුවය යැයි සිතා රැවටීමෙන් ම අන් අයව ද ඒ ඒ මාර්ගයන් ට යොමු කර වීමට දිගින් දිගට ම කටයුතු කරති. (සූ.දේ.14/ සූ.දේ.15)

මෙහිදී සිදු වන්නේ 'ගසක මුදුන් මුල නොකපා පොළොවෙන් උඩට ඇති ටික පමණක් කපනවා' වැනි ක්‍රියාවකි. ගස නැවත පැළ වීමට හේතු වෙන ගසේ මුදුන් මුල ඇති නිසා ගස කෙදිනක හෝ නැවතත් දළු දමා ලියලා වඩ වඩාත් වර්ධනය වෙයි. එනම් මෙහිදී සංසාර ගමනට හේතු වෙන 'අවිද්‍යාව' නැමති මුදුන් මුල උදුරා දැමීමක් සිදු නොවන නිසා ම සංසාර රිය ගමනින් මිදී නිදහස් නොවෙයි. 'රිය ගමන අරිය කරන්නට උපකාර නොවන' නිසා ම මෙවැනි භාවනා ක්‍රම 'අනරිය භාවනා ක්‍රම' ලෙස හඳුන්වයි. මෙය 'අබුද්ධෝත්පාද' කාලයන් වල පවා මිනිසුන් විසින් අනුගමනය කරන නිබ්බනගාමී මාර්ගයට පටහැනි වූ එදත් අදත් හෙටත් ලොව පවතින භාවනා ක්‍රමයකි. (සූ.දේ.15)

මෙම අනරිය භාවනා ක්‍රම අනුගමනය කරන පුද්ගලයන් තම තමන් නිර්මාණය කර ගත් පිරි අපිරි ලෝකය ක්‍රියාත්මක වන ආකාරය නොදැකීම නිසා ම අවිද්‍යාවෙන් ම කටයුතු කොට ධ්‍යාන සුවය ලබා (අනෙඤ්ජාභිසංඛාර) එම සුවයට උරුම වූ ඵල විපාක වැය කරන්නට බ්‍රහ්ම තල වල

උත්පත්තිය ලබති. සැබවින්ම තාවකාලික වූ එම සුවය ද ගෙවා දමා අවසන් වූ පසු ඔවුහු නැවත නැවතත් කර්ම බීජ උපද වමින් නොනවතින සංසාර ගමනක යෙදෙති. (සූ.දේ.15)

තව සමහරු ඔවුන් විසින් ප්‍රිය දේවල්වලට 'අන්තගාමීව' ඇලීමෙන් උපදවන රාග බවත් අප්‍රිය දේවල්වලට 'අන්තගාමීව' ගැටීමෙන් උපදවන ද්වේෂ බවත් නූපදවා සිටීමට මානසිකව ම තම තමන් විසින් ගොඩ නගා ගත් චින්තනයකින් යුතුව කටයුතු කරති. තම තමන් විඳින රත්විල්ල පිච්චිල්ල ගින්නක් බව දැන එනම් සං ගති හඳුනා ගෙන එම සං ගති නූපදවා සිටීමට එනම් කාමයෙන් වෙන් වීමට අකුසලයෙන් වෙන් වීමට තම තමන් තුළ වාරණ තහංචි යොදා ගෙන වේරමණියෙන් කටයුතු කරති. (සූ.දේ.16)

ඔවුහු ඇසට දකින රූප, කනට ඇසෙන ශබ්ද රූප, නාසයට දැනෙන ගඳ සුවඳ රූප, දිවට දැනෙන රස රූප, ශරීරයට දැනෙන පහස රූප, මනසට දැනෙන ධම්ම රූප 'සියල්ල ම අනිච්ච බව දුක්ඛ බව අනත්ථ බව' සිතමින් 'මානසිකව ම තම තමන් විසින් ගොඩ නගා ගත් චින්තනයකින්' යුතුව ම සං ගති ඉපදීම වැළැක්වීමට දැඩි වීරියකින් කටයුතු කරති.

ඒ සඳහා නොයෙකුත් පද මැතිරිලි වාක්‍ය ඛණ්ඩ සජ්ඣායනා කරමින් නොයෙකුත් සමථ භාවනා ක්‍රම පුරුදු පුහුණු වෙති. එම සමථ භාවනා ක්‍රම නිරන්තරයෙන් ම බහුලව වඩිමින් ම

අසීමිත වූ සුවයක් ගෙන දෙන්නා වූ 'ධ්‍යාන සුවය' අත් පත් කර ගනිති. එය නිබ්බාන සුවය යැයි සිතා රැවටීමෙන් ම අන් අයව ද 'ධ්‍යාන සුවය අත් පත් කර ගැනීමට පමණක් ම ඉවහල් වෙන' එම මාර්ගයන් ට යොමු කර වීමට දිගින් දිගටම කටයුතු කරති. මෙහිදී ද සිදු වන්නේ ද 'ගසක මුදුන් මුල නොකපා පොළොවෙන් උඩට ඇති ටික පමණක් කපනවා' වැනි ක්‍රියාවකි. එනම් මෙහිදී සංසාර ගමනට හේතු වෙන 'අවිද්‍යාව' නැමති මුදුන් මුල උදුරා දැමීමක් සිදු නොවන නිසා ම සංසාර රිය ගමනින් මිදී නිදහස් නොවෙයි. (සූ.දේ.14/සූ.දේ.16)

මෙහිදී ද තම තමන් නිර්මාණය කර ගත් පිරි අපිරි ලෝකය එනම් තමන්ට ම ආවේණික වූ තම තමන්ගේ නිච්ච සුඛ අත්ථ ලෝකය සැබෑවට ම ක්‍රියාත්මක වන ආකාරය 'පටිච්ච සං උත්පාද ධම්මතාවයට' අනුව නොදැකීම නිසා ම ඔවුහු ද අවිද්‍යාවෙන් කටයුතු කොට ලෞකික වූ ධ්‍යාන සුවයක් අත් පත් කර ගනිති. රිය ගමන අරිය කරන්නට මෙම ධ්‍යාන උපකාර නොවන නිසා ම ඒවා 'ලෞකික අරිය ධ්‍යාන' ලෙස හඳුන්වයි. එම ලෞකික අරිය ධ්‍යාන සුවයට උරුම වූ ඵල විපාක වැය කරන්නට ඔවුහු ද බ්‍රහ්ම තල වල උත්පත්තිය ලබති. සැබවින් ම තාවකාලික වූ එම සුවය ද ගෙවා දමා අවසන් වූ පසු ඔවුහු අවිද්‍යාව මුල් වීමෙන් ම නැවත නැවතත් කර්ම බීජ හෙවත් සං ගති උපද වමින් නොනවතින සංසාර ගමනක යෙදෙති. (සූ.දේ.16)

## 12. සංසාර ගමනින් මිදී නිදහස් වීමට ඔබ කුමක් කළ යුතුද?

ලොව ජීවත් වන සියලු සත්ත්වයන් මෙන් ම ඔබත් උත්සහ ගන්නේ ඔබ කැමති අකමැති සියලු දේ, ඔබ කැමති ආකාරයට පවත්වා ගැනීමට නොවේ ද? එත් මේ සියල්ල හැමවිට ම ඔබ කැමති ආකාරයට ම සුව සුබ ලෙස සිද්ධ වේද?

එසේ තම කැමැත්ත පරිදි යමක් සිදු වෙන අවස්ථා ද තිබේ. එවැනි අවස්ථාවක දී 'අන්තගාමීව' සතුටු වීමත්, එසේ තම කැමැත්ත පරිදි යමක් සිදු නොවන විට 'අන්තගාමීව' දුක් වීමත් නිසා ඔබේ සිත රත් වෙන හැටි මත් වෙන හැටි ගිනි ගන්නා හැටි සිතට බරක් දැනෙන හැටි, සිතේ ඇති වෙන මේ ස්වභාවය විකෘති බව අස්වාභාවික බව ඔබ ම අත් දැක ගන්නට ඇති. (සූ.දේ.4)

මෙම අවස්ථාවන්වල දී ඔබ තුළ වූ පිරි අපිරි ලෝකයත්, එය ක්‍රියාත්මක වන ආකාරයත් නොදැකීම 'අවිද්‍යාවයි'. අවිද්‍යාව නිසාම ඔබ මුලාවට පත් වී මත්වීමෙන් අන්ධ භාවයකින් 'අන්තගාමීව' කටයුතු කොට සංගති උපදවයි. මෙසේ රාග, ද්වේෂ, මෝහ නැමති සංගති උපදවමින් එයින් ලැබෙන ආමිස සුවයට ලොල් වෙමින් එම සං ගති උපදවා ගැනීම සාර ලෙස දකිමින් සියලු සත්ත්වයෝ නොනවතින 'සං සාර' ගමනක යෙදෙති. (සූ.දේ.3/සූ.දේ.10)

මෙතෙක් ඉදිරිපත් කළ කරුණු කාරණා විමසිලිමත්ව කිය වූ ඔබ තුළ 'මේ සංසාර ගමනින් ඔබ වහ වහාම මිදී නිදහස් විය යුතු යැයි' අධිෂ්ඨානයක් ඇති වූයේ නම් ඒ ඔබේ ප්‍රඥාවන්ත බව ඉස් මතු වූ නිසාමය.'මනුස්සත්ත පටිලාභො පරම දුල්ලභො' යැයි බුදු පියාණන් වහන්සේ පැවසූවේ 'සංසාර ගමනින් මිදී නිදහස් වීමට කටයුතු කළ හැක්කේ මනුස්සයෙකුට පමණක් ම බව පසක් කර දෙමිනි. එසේ නම් ඔබ සංසාර ගමනින් මිදී නිදහස් වීමට කුමක් කළ යුතු ද? (සූ.දේ.17)

ලොව්තුරා බුදු පියාණන් වහන්සේ පර්යේෂණාත්මකව ම තම ස්වං භූ ඥානයෙන්ම අත් දැක නිරාවරණය කළේ මෙතෙක් ආවරණය වී වැසී යට පත්ව පැවති පරම සත්‍යයකි. ඒ අන් කිසිවක් නොව 'පටිච්ච සමුප්පාද ධම්මතාවයයි', හේතුඵල දහමයි. එය ඔබ විසින් පෙර නොඇසූ අත් දැක නොගත් දහමකි (පුබ්බෙ අනනුස්සුතෙසු ධම්මෙසු). බුදුන් වහන්සේ ලෝකයාට හෙළි කර වදාළ අවිද්‍යා මූල පටිච්චසමුප්පාදයෙන් පෙන්වා දුන්නේ සත්ත්වයන් තුළ අවිද්‍යාව මුල් වීමෙන් සං ගති හෙවත් රාග, ද්වේෂ, මෝහ ගති සකස් කරන ආකාරයයි. අවිද්‍යා මූල නිරෝධ පටිච්ච සමුප්පාදය සහ කුසල මූල පටිච්චසමුප්පාදය මගින් පෙන්වා දුන්නේ සත්ත්වයා සංසාර ගමනට ඇඳ බැඳ තබන අවිද්‍යාව නම් බානෙන් මිදී නිදහස් විය හැකි 'නිබ්බාන' විය හැකි සිද්ධාන්තයයි. (සූ.දේ.4)

එසේ නම්, බුදු පියාණන් වහන්සේ පෙන්වා දුන් පටිච්ච සමුප්පාදයේ තිපරිවට්ට ධම්මතාවය තමා තුළ ක්‍රියාත්මක වන ආකාරය, පළමුව තම තමන් විසින් අත් දැක ගත යුතුය. අවිද්‍යාමූල පටිච්ච සමුප්පාදය තමන් තුළ ක්‍රියාත්මක වන ආකාරය දැක ගත් කෙනෙකුට ම පමණක් තම තමන් තුළ සං ගති හෙවත් ගිනි උපදින ආකාරය දැක ගත හැකිය. එනම් ඔහු ධම්මෝ සංදිඨිකෝ වෙයි. (සූ.දේ.18)

ඔහු එම ගින්නට හේතු වෙන තම තමන් නිර්මාණය කර ගත් පිරි අපිරි ලෝකය ක්‍රියාත්මක වන ආකාරය දැක ගෙන අවිද්‍යා මූල නිරෝධ පටිච්ච සමුප්පාද ධම්මතාවයේ පිහිටා කටයුතු කරයි. එවිට ඔහු තුළ ක්‍රියාත්මක වන පිරි අපිරි ලෝකය තුළ වූ සත්‍යය, එනම් යථා භූත ස්වභාවය දැන දැක ගැනීමෙන් ම ප්‍රඥාව මුල් වීමෙන් ම කුසල මූල පටිච්ච සමුප්පාද ධම්මතාවය ක්‍රියාත්මක වෙනු ඇත. (සූ.දේ.4/සූ.දේ.7)

ඔබ සංසාර ගමනින් මිදී නිදහස් වීමට නම් ‘පටිච්ච සමුප්පාද ධර්මයයේ තිපරිවට්ටයට’ අදාළ කරුණු කාරණා සිත තුළ ධාරණය කොට විමර්ශනය කර, එය ඔබ තුළ ක්‍රියාත්මක වන ආකාරය පර්යේෂණාත්මකව ම තම තමන් තුළින් ම අත් දැක ගැනීමෙන් ම පමණක් දහම් ඇස උපදවා පහදවා ගෙන නිබ්බානගාමී මාර්ගයට අවතීර්ණ විය යුතුය. (සූ.දේ.4/සූ.දේ.5/සූ.දේ.7)

ඔබ නිබ්බාන ගාමී මාර්ගය නැමති දොර ළගට පැමිණ 'ඔබට නිවන් දොරටු විවර වේවා' කියා දහස් වාරයක් ප්‍රාර්ථනා කළ පමණින් නිබ්බාන ගාමී මාර්ගය නැමති දොර විවර වන්නේ නැත.එනම් නිබ්බාන සුවය දහස් වාරයක් ප්‍රාර්ථනා කොට ලබා ගත හැක්කක් නොවන බවත් නිබ්බාන ගාමී මාර්ගයට අවතීර්ණ වීමට පටිච්ච සමුප්පාද ධර්මය ඔබ තුළ ක්‍රියාත්මක වන ආකාරය පර්යේෂණාත්මකව ම ඔබ තුළින් ම අත් දැක ගත යුතු බවත් ඔබ ට වැටහෙනු ඇත. (සූ.දේ.12)

ප්‍රඥාවන්තයා නිබ්බාන ගාමී මාර්ගය නැමති දොර ළගට විත් බලා නොසිට දොරට තට්ටු කරමින් තමන් විසින්ම පරික්ෂාකරමින් දොර ඇර ගන්නට ක්‍රමයක් මාර්ගයක් සොයයි. ඔහුට නිබ්බාන ගාමී මාර්ගයේ දොරටු විවර වෙයි. 'තට්ටු කරන්නාට දොර ඇරේ' යැයි පවසන්නේ 'මෙම සංසාර රිය ගමනින් මිදී නිදහස් වන්නට, රිය ගමන 'අරිය' කරන්නට අරිය පර්යේෂණයක් තම තමන් විසින් ම සිදු කළ යුතු බව සියල්ලන්ට ම පසක් කර දීමටයි. (සූ.දේ.19)

මේ මිනිසත් ජාතියේදී ම 'මේ සංසාර ගමනින් වහ වහාම මිදී නිදහස් විය යුතු යැයි' ඔබ තුළ අධිෂ්ඨානයක් ඇති වන්නටත් පටිච්ච සමුප්පාද ධර්මයේ තිපරිවට්ට ධම්මතාවය ම ඔබ තුළ ක්‍රියාත්මක වන ආකාරය පර්යේෂණාත්මකව ම ඔබ තුළින් අත් දැක ගන්නටත් මේ කරුණු කාරණා සියල්ල ඔබට මාර්ගෝපදේශනයක් ලෙසින් ම උපකාර වේවා!

## 13. බාහිර ණය ගනුදෙනු වලින් මිදී නිදහස් වීම

ඔබේ 'සංසාර ගමන' මහ රූස්ස ගසක් මෙනි. එම ගසේ මුදුන් මුල අවිද්‍යාවයි. එම මුදුන් මුලට සම්බන්ධව පවතින අනෙකුත් අනු මුල්, ඔබ පෙර උපදවා ගත් සං ගති වලට උපමා කළ හැක. මෙම මුදුන් මුල හෙවත් අවිද්‍යාව මුල් වීමෙන් අනු මුල් හෙවත් පෙර සකස් කළ සං ගති වලින් දෙන තල්ලුව බලය නිසා ම මෙම ගස ශක්තිමත්ව නැගී සිටියි. එනම් ඔබ තවදුරටත් 'සංසාර ගමන' යයි. (සූ.දේ.1)

මේ මහ රූස්ස ගස ඉතා ශක්තිමත්ව නැගී සිටිමට එහි කඳ වටා කඹ විශාල ප්‍රමාණයක් බැඳ එම ගස තවත් ගස් සමග සම්බන්ධ කර තිබෙයි. ඔබ විසින් නොයෙකුත් සත්ත්වයන්ට පුද්ගලයන්ට හිංගි හිංසා අසාධාරණකම් කරමින් සිදු කළ පාප කම්ම හෙවත් ඔබේ සංසාර ගමන දිගු වීමට හේතු වෙන ලෙස සම්බන්ධ වී ඇති 'බාහිර ණය ගනුදෙනු' හෙවත් බහි ජටා (ගැට) එම ගස සමග කඹ වලින් ගැට ගසා ඇති අනෙත් ගස්වලට උපමා කළ හැකිය. (සූ.දේ.2/සූ.දේ.11)

මේ සංසාර ගමනේ දී කවදා කෙදිනක දී හෝ මොන යම් ආකාරයකින් හෝ ඔබට උදවු උපකාර කළ මග පෙන් වූ පිහිට වූ සහයෝගය දැක් වූ බොහෝ අය මේ විශ්වය තුළ සිටිති. ඔබ ඒ අයට, ඔවුන් ඔබට සිදු කළ එම උදවු උපකාර වෙනුවෙන් ණය ගෙවිය යුතුයි. මේ ණය ගෙවා ඉවර නැති බැවින් නැවත නැවතත් ඔබ ඒ අය වටා ද, ඒ අය ඔබ වටා ද

ණය ගෙවීම සඳහා ම ඉපදීම සිදු වෙයි. එහෙත් ඔබ ඒ බව නොදැන නැවතත් ඒ අයට ණය වීමෙන් ගස වටා බැඳ ඇති කඹ ප්‍රාමාණය (බහි ජටා) තවත් වැඩි කර ගනියි. (සූ.දේ.2)

ඔබ විසින් නොයෙකුත් සත්ත්වයන් පුද්ගලයන් සමග සංසාර ගමන දිගු වීමට හේතු වෙන "බාහිර ණය ගනු දෙනු" ඇති කර ගෙන තිබෙයි.ගසේ මුදුන් මුල හෙවත් අවිද්‍යාව උදුරා දැමීමට පෙර, එම ගසට සම්බන්ධව පවතින මෙම කඹ රාශිය (බහි ජටා) කපා දැමිය යුතුයි. එනම් පළමුව ඔබ මෙම බාහිර ණය ගනුදෙනු වලින් මිදී නිදහස් විය යුතුය.බුද්ධ දේශනාවේ සූත්‍ර රැසක ඒවාට කළ හැකි ප්‍රතිකර්ම, උපකර්ම, උපක්‍රම, සම්මප්‍රයෝග සඳහන් වෙයි. (සූ.දේ.2/සූ.දේ.11)

ඒ සඳහා, පටිච්ච සමුප්පාද ධම්මතාවය නිවැරදිව දැන දැක ගෙන භාවිතය තුළින් ම ඔබ විසින් අනන්ත සංසාරයේ පටන් මේ මොහොත දක්වා ම සත්ත්වයන්ට පුද්ගලයන්ට සිදු කළ හිංගි හිංසා අසාධාරණකම්වලට අභිමුඛව හෝ සිතින් සමාව ගත යුතුය. සියලු සත්ත්වයන් කෙරෙහි පරම මෛත්‍රීය පැතිර වීමෙන් ඔබට උදවු උපකාර කළ අයටත් සියලු සත්ත්වයන්ටත් පින් අනුමෝදන් කිරීම සිදු කළ යුතුය. නිබ්බානගාමී මාර්ගයට අවතීර්ණ වීම පිණිස සියලු සත්ත්වයන්ට උදවු උපකාර කිරීමෙන් 'බාහිර ණය ගනුදෙනු' හෙවත් 'බහි ජටා' වලින් මිදී නිදහස් වෙන්න පුළුවන් කියන එක ඔබට ම යථාවබෝධ වේවි. (සූ.දේ.2/සූ.දේ.4/සූ.දේ.8/සූ.දේ.11)

# 14. පොකුණ පතුලේ තිබෙන මඩ කුණු රොඩු සියල්ල ස්වාභාවිකත්වයට ඉඩ දීමෙන් ම ඉවත් කළ යුතු බව

ඔබේ සිත පොකුණක් මෙනි. එම සිත නැමැති පොකුණේ පතුලේ එනම් චිත්තසංථානයේ, ඔබ පෙර උපදවා ගත් සං ගති ලක්ෂණ (ආසය) තැන්පත්ව පවතී. ඒවා හරියට දිය පිරි පොකුණක පතුලේ තැන්පත්ව තිබෙන රොන් මඩ, කුණු රොඩු ආදිය මෙනි. ඔබේ සිතත් රාගයෙන් මත් වෙලා ද්වේෂයෙන් රත් වෙලා මෝහයෙන් වෙහෙසට පත් වෙලා ගිනි ගත්ත මොහොතක හරියට ගලක් ගැසීම නිසා ඇති වූ කම්පනයකින් කැළඹුණු පොකුණක් වගෙයි. එවිට මෙතෙක් වෙලා පොකුණේ පතුලේ තැන්පත් ව තිබූ මඩ කුණු රොඩු පොකුණ පුරා විසිරී මුළු පොකුණම කළු වී කැළඹී යයි.

ඒ ආකාරයට ම ඔබේ සිතේ පෙර තැන්පත් වී පැවති ආසය පොදිය හෙවත් සං ගති පොදිය කැළඹී සිත රත් වී නැවතත් එවැනිම ද්වේෂ ගතියක් කළු කෙළෙස් ගතියක් සං ගතියක් අලුතින් ඉපදීම නිසා ම එනම් අනුසය ඉපදීම නිසා ම සිත කිළිටි වී යයි. සිතේ ඇති වෙන මේ ස්වභාවය විකෘති බව අස්වාභාවික බව ඔබ ම අත් දැක ගන්න. මෙම විකෘති බව ඔබේ මුහුණින් පවා විද්‍යාමාන වෙන බව ඔබට දැක ගැනීමට පුළුවනි. (සූ.දේ.4/සූ.දේ.7)

නිශ්චල පොකුණක පතුලේ තිබෙන දේවල් පැහැදිලිව විනිවිද දකින්නාක් මෙන්, කුණු රොඩු පොකුණ පුරා විසිරී ගිය පසු මඩ කැළතුණු පොකුණක ඇතුළේ තිබෙන දේවල් පැහැදිලිව දැක ගත නොහැකිය. ඒ ආකාරයට ම ඔබේ සිත නැමැති පොකුණෙත් අලුතින් කෙළෙස් ගතියක් උපදින විට අනුසය උපදින විට එනම් සංඛාරයක් ක්‍රියාත්මක වීමෙන් සං උදය වන විට (සමුදය) කැළඹුණු සිතේ ඔබේ පිරි අපිරි ලෝකය සැබෑවටම ක්‍රියාත්මක වන ආකාරය ඔබට කිසිදා දැක ගත නොහැකිය.

කැළඹුණු පොකුණක් නැවත යථා තත්වයට පත් කර ගන්නට අපි එයට කිසිවක් සිදු කරන්නේ නැත. අපි කුමන හෝ ක්‍රියාවක් බලෙන් සිදු කර පොකුණ සමථයකට පත් කිරීමට ගිය හොත් පොකුණ නැවත නැවතත් කැළඹීම සිදු විය හැකිය. ටික වේලාවකට පසු පොකුණ ස්වාභාවිකව ම සෙමෙන් සෙමෙන් සමථයකට පත් වී නිසල වෙනු ඇත.

එම කැළතුණු රොඩු පොකුණේ පතුලේ තැන්පත් වූයේ එහි ස්වාභාවිකත්වයට ඉඩ දීමෙනුයි. දැන් පොකුණේ ජලය තුළින් පතුලේ තැන්පත්ව තිබෙන මඩ කුණු රොඩු රාශිය විනිවිද දකින්නාක් මෙන් ඉතා පැහැදිලිව දැක ගත හැකිය. එහෙත් නැවත කොයි මොහොතක හෝ බාහිරින් ඇති කරනු ලබන යම් කම්පනයක් හේතුවෙන් එම පොකුණ නැවත කැළඹෙණු ඇත. (සූ.දේ.4)

ඔබ කුමන හෝ ක්‍රියාවක් බලෙන් සිදු කර මෙම පොකුණේ පතුලේ තැන්පත්ව තිබෙන මඩ කුණු රොඩු සියල්ල සම්පූර්ණයෙන් ම ඉවත් කිරීමට ගිය හොත් පොකුණ නැවත නැවතත් කැළඹීම සිදු විය හැකිය. මෙම පොකුණේ තිබෙන මඩ කුණු රොඩු සියල්ල ස්වාභාවික වූ ක්‍රියාවලියක් මගින් ස්වාභාවිකත්වයට ඉඩ දීමෙන් ම එම කුණු රොඩු මතු වෙන අවස්ථාවලදී පමණක් ටිකෙන් ටික ඉවත් කළ හැකි නම් පොකුණේ පතුලේ වූ කුණු රොඩු සියල්ලත් (ආසය) නැවත පොකුණට එකතු වෙන කුණු රොඩු සියල්ලත් (අනුසය) ඉවත් කළ හැකිය. එසේ සියලු කුණු රොඩු ඉවත් කළ පොකුණ නැවත කිසිදා බාහිර කම්පන හේතුවෙන් කැළඹී මඩ නොවෙනු ඇත. (සූ.දේ.7)

මෙම උදාහරණය තුළ අතිශය ගාම්භීර වූ සියුම් වූ එහෙත් සරල වූ අතිශය ප්‍රායෝගික වූ සිද්ධාන්තයක් ගැබ්ව තිබෙයි. එය තවදුරටත් යථාවබෝධයෙන් ම තේරුම් ගැනීම සඳහා ඔබ ඉහත කියන ලද කරුණු කාරණා ධාරණය කර ගනිමින්, ඔබ ගැන, ඔබේ ජීවිතය ගැන, ඔබේ සිත ගැන, ඔබේ සිතේ ඇති වෙන කැමැත්තේ සහ අකමැත්තේ ස්වභාවය ගැන, ඔබේ සිතේ තරහව, අධික සතුට මෙන්ම කරුණාව දයාව ඇති වෙන අවස්ථා ගැන විමර්ශනය කරමින්, මේ සියලු දේ ඇති වෙන හැටි පවතින හැටි, ඔබ තුළින්ම අත් දැක ගැනීමට උත්සහ කරන්න. (සූ.දේ.7/සූ.දේ.19)

## 15. ද්වේෂය නිසා කැළඹුණු සිතක් සමථයකට පත් වෙන ආකාරය

ඔබේ සිතේ ඇති වූ දුක් වේදනාවක් දිගේ සිතුවිලි පවත් වමින් තමන්ට ඒ දුක් වේදනා ඇති වුණේ අන් අයකුගේ වරදක් නිසා ම බව සිතමින් විඳව විඳවා සංවේගයට පත් වෙලා, අන් අයට දොස් පවරමින් දෙස් දෙවොල් කියමින් කෑගසමින් කටයුතු කරන විට ඔබේ සිතත් හරියට, ගලක් ගැසීම නිසා ඇති වූ කම්පනයකින් කැළඹුණු පොකුණක් මෙනි. සිත තුළ තරහව ඉපදෙන ආකාරය එනම් අවිද්‍යාව මුල් වී ඔබේ පිරි අපිරි ලෝකය ක්‍රියාත්මක වන ආකාරය ඔබට දැක ගත නොහැකිය. (සූ.දේ.9)

මෙසේ සිතට තරහක් දැනුණු විටක, ඔබ 1 සිට 10ටත් 10 සිට 1ටත් ගණන් කිරීමෙන් හෝ අසා දැන ගත් ඉගෙන ගත් මෛත්‍රී භාවනාවක වචන පදවැල් මැතිරීමෙන්, සජ්ඣායනා කිරීමෙන් හෝ පවා සිදු වන්නේ, එම තරහව ඔස්සේ ඔබේ සිත තවදුරටත් රෝද වෙමින් ක්‍රියාත්මක වීම තාවකාලිකව නැවතීමකි. එවිට කැළඹුණු සිත සමථයකට පත් වෙයි.

එහෙත් සුළු මොහතකට පසු නැවතත් තරහව මතු විය හැකිය. ඔබ ඉහත ආකාරයට දිගෙන් දිගට ම සමථය වැඩීම සිදු කළ විට නැවත නැවතත් සිත සමථයට පත් වෙයි. එහෙත් නැවතත් ඔබේ සිත ඔබ අප්‍රිය කරන දෙයකට

'අන්තගාමීව' ගැටීමෙන් කටයුතු කිරීමේ ස්වභාවයෙන් මිදී නිදහස් වේවිද?

එසේ නම් ඔබ දැන ගත යුත්තේ කුමක් ද? මේ තරහව ඉපදීමට හේතු වෙන මුදුන් මුල සොයා දැන, එම මුදුන් මුල හෙවත් 'අවිද්‍යාව' මුල් වීමෙන් අවිද්‍යා මූල පටිච්ච සමුප්පාද ක්‍රියාදාමය ඔබ තුළ ක්‍රියාත්මක වෙන ආකාරය නිවැරදිව දැක ගැනීමයි. (සූ.දේ.4)

ලොව්තුරා බුදු පියාණන් වහන්සේ ස්වංභූ ඥානයෙන් ම පර්යේෂණාත්මකව ම අත් දැක ගත් පරම සත්‍යය වනුයේ, මේ ආකාරයට සත්ත්වයන් තුළ අවිද්‍යාව මුල් වීමෙන් සං ගති හෙවත් රාග, ද්වේෂ, මෝහ ගති සකස් කරන ආකාරයයි. ලොව්තුරා බුදුන් වහන්සේ ලෝකයාට හෙළි කළ වදාළ ඒ උතුම් සත්‍යය පටිච්ච සමුප්පාද ධම්මතාවයයි. එනම් හේතුඵල දහමයි. (සූ.දේ.3)

අවිද්‍යාමූල පටිච්ච සමුප්පාදයත්, අවිද්‍යා මූල නිරෝධ පටිච්ච සමුප්පාදයත්, කුසල මූල පටිච්ච සමුප්පාදයත් යන පටිච්ච සමුප්පාදයේ තිපරිවට්ටය ම තමන් තුළ ක්‍රියාත්මක වන ආකාරය දැක ගත් කෙනෙකුට ම පමණක් තම තමන් නිර්මාණය කර ගත් පිරි අපිරි ලෝකය ක්‍රියාත්මක වන ආකාරය දැක ගත හැක. එම දැක්ම මුල් වීමෙන් ම ඔබේ සිතේ මෛත්‍රි සහගත බවක් ක්‍රියාත්මක වන්නේ නම්

පමණක් ස්වභාවිකත්වයට ඉඩදීම තුළ කැළතුණු පොකුණක් නිසල වූවා සේම ගිනි ගෙන කැළඹුණු ඔබේ සිතත් සමථයට පත් වෙනු ඇත. මෙය ඔබ විසින් ම අත් දැක ගත යුතු, ඔබ මෙතෙක් අත් දැක නොගත් පරම සත්‍යය යි. (සූ.දේ.7)

ඔබට ඔබේ අම්මා කෙරෙහි ඇත්තේ කරුණාවකි දයාවකි. ඔබට කිසිවෙකු විසින් වෙනත් කාන්තාවක් පෙන්වා, 'එම කාන්තාවටත් ඔබේ අම්මාට මෙන් ම කරුණාව දයාව දක්වන්න' යැයි පැවසුව හොත්, ඔබ එම කාන්තාව කෙරෙහි කරුණාවක් ඇති වේවා යැයි කියා ලක්ෂ වාරයක් පද මැතුරුවත්, බලෙන් ම හිතුවත් ඔබේ සිතේ ඒ කාන්තාව කෙරෙහි මව් සෙනෙහසක්, කරුණාවක් ඇති වෙවි ද? එසේ බලෙන් සිතලා, වචන පදවැල් මතුරලා, මෛත්‍රීයක් සිත තුළ ඇති කර ගත නොහැකි බව ඔබ ම අත් දැක ගන්න. (සූ.දේ.8)

මේ ගැන තවදුරටත් පැහැදිළි කර ගැනීම සඳහා පහත උදාහරණයට සිත යොමු කරන්න.

විශ්ව විද්‍යාලයක ඉගෙනුම ලැබූ සිසුන් දෙදෙනෙකු අතර, ක්‍රිකට් තරඟාවලියක දී බහින් බස් වීමක් ඇති විය. එම ගැටුම ගුටි බැට හුවමාරුවක් දක්වා වර්ධනය වී එක් සිසුවෙකුට සුළු තුවාලයක් සිදු විය. තුවාල ලැබූ සිසුවා අනෙක් සිසුවාගෙන් පළි ගැනීමට සිතා රෝහල් ගත වුයේ ඔහුගේ හිස බරපතල ලෙස වේදනාකාරී බවක් ගෙන දෙන බව පවසමිනි. ඔහු තම

අසනීපයට ආරූඪ කර ගත් බරපතල කමක් පෙන්වුවේය. අවසානයේ මේ ගැටුම නිසා අනෙක් සිසුවාට විශ්ව විද්‍යාලය තුළට ඇතුළුවීම මාස තුනකට තහනම් විය. එම නිසා ඔහුට අවසන් වසර විභාගයට පවා මුහුණදීමට බැරි වී අවසානයේ උපාධිය පවා අහිමි විය.

මෙසේ උපාධිය අහිමි වූ සිසුවා ඔබ නම්, ඔබට මේ ගැටුම මතක් වෙන විට විශ්ව විද්‍යාලය සිහි වෙන විට ඔබේ සිත තුළ ඇති වෙන තරහව, පිච්චීම, ගිනි ගැනීම, කොතෙක් ද? ඔබට අනෙක් සිසුවා කෙරෙහි ඇත්තේ බලවත් වූ වෛරයකි. මෙවැනි මොහොතක ඔබට කවුරුන් හෝ කියා දුන් වචන ටිකක්, පදවැල් ටිකක් මතුරා ඔබෙන් පළි ගත් එම පුද්ගලයාට මෛත්‍රී කළ හැකි ද? පදවැල් වල, සජ්ඣායනා තුළ මෛත්‍රියක් නොමැත. එම වචන පේළිවල අදහස බලෙන් සිතුව ද ඔබ තුළ මෛත්‍රියක් ඇති නොවන බව ඔබ විසින් ම අත් දැක ගන්න. (සූ.දේ.8)

එම පුද්ගලයාව මතක් වෙන විට ඔබේ සිත තුළ උපදින බලවත් වූ තරහව, රත්විම, ගින්න ක්‍රියාත්මක වන ආකාරය සං ගති උපදින ආකාරය ඔබ විසින් දැක ගත යුතුය. එනම් මේ ගිනි ගැනීමට අවිද්‍යාව හේතු වෙන  ආකාරයත්, ඔබ තුළ ඔබ නිර්මාණය කර ගත් අඳුරු පිරි අපිරි ලෝකය ක්‍රියාත්මක වන ආකාරයත්, එහි සත්‍යයත්, යථා භූත ස්වභාවයත් අවිද්‍යා මූල පටිච්ච සමුප්පාද ධම්මතාවය තුළින් අත් දැක ගත යුතුය.

එසේ නම්, බුදු පියාණන් වහන්සේ පෙන්වා දුන් අවිද්‍යා මූල පටිච්ච සමුප්පාද ධම්මතාවය තමා තුළ ක්‍රියාත්මක වෙන ආකාරය, පළමුව තම තමන් විසින් අත් දැක ගත යුතුය. ඒ සඳහා, කා හට වුවද පරම පිවිතුරු සිරිසද්ධර්මය ම නිවැරදි වූ පටිච්ච සමුප්පාද ධර්මතාවය ම අඩංගු බුද්ධ දේශනාව තමන් තුළින් ම විමර්ශනය වී දහම් ඇස උපදවා පහදවා ගත යුතුය.

එවිට ඔබ තුළ ක්‍රියාත්මක වන පිරි අපිරි ලෝකය තුළ වූ සත්‍යය, එනම් යථා භූත ස්වභාවය දැන දැක ගැනීමෙන් ම ඔබ තුළ යම් මට්ටමක ට පවතින මෙත්තා, කරුණා, මුදිතා උපෙක්ඛා නම් වූ සතර බ්‍රහ්ම විහරණ ප්‍රඥාව මුල් වීමෙන් ම ක්‍රියාත්මක වෙනු ඇත. එය හුදෙක් පද මැතිරීමක්, සජ්ඣායනාවක් හෝ පුරුදු පුහුණුවීමක් නොවෙයි. (සූ.දේ.8)

එම අවස්ථාවේ දී ඔබේ සිතේ තරහ බවක් ඇති වීමට නිමිති වෙන්නා වූ හේතු වූ එම පුද්ගලයා කෙරෙහි අපරිමිත වූ මෛත්‍රියක් ඔබ තුළින් ම, එම පුද්ගලයා කෙරෙහිත් සියලු ලෝක සියලු සත්ත්වයන් කෙරෙහිත් සම ව ඇති වූ යම් මෛත්‍රී සහගත වූ දැක්මක් නිසා ම මතු වන්නේ නම් පමණක් ඔබේ සිතේ ඇති වූ දුක් වේදනාව ඔස්සේ බුර බුරා නැගෙන තරහවේ, වෛරයේ, ගින්න නිවාලිය හැකි බව, සමථයකට පත් කළ හැකි බව ඔබ ම අත් දැක ගන්න. මේ මෙත්ත අනුස්සති යයි. විපස්සනාව හෙවත් යථා භූත ඥාන දර්ශනය තුළින් ම ඔබ තුළ භාවිත වෙන මෙත්ත අනුස්සති

භාවනාවයි. 'භාවනාව'යනු තම තමන්ගේ පිරි අපිරි ලෝකය පිළිබඳව යථා භූත ඥාන දර්ශනය 'භාවිතය' වීමයි. (සූ.දේ.7)

කැළඹුණු පොකුණක් ස්වභාවිකව ම සෙමෙන් සෙමෙන් සමථයකට පත් වී නිසල වෙයි. බුර බුරා නැගෙන ගින්නක් සිසිල් ජල කඳක් මගින් ස්වභාවිකව ම නිවාලීමට හැකි වෙයි. මේ ආකාරයට ඔබේ සිතේ ඇති වූ  දුක් වේදනා නිසා බුර බුරා නැගෙන තරහවේ වෛරයේ ගිනි දැල් නිවාලිය හැක්කේ ද කැළඹුණු සිත නැමැති පොකුණ සමථයට පත් කළ හැක්කේ ද ස්වභාවිකත්වයට ඉඩ දීමෙනි.  එනම් ඔබේ සිතින් ප්‍රිය අප්‍රිය ලෙස ඔබ සාදා ගෙන තියෙන ලෝකය ක්‍රියාත්මක වෙන ආකාරය එහි සත්‍යය දැක ගැනීමෙන් ලද දැක්ම මූල් වීමෙනි. (සූ.දේ.7)

මෙසේ ඔබ මෙන්ම ලොව ජීවත් වෙන සියලු සත්ත්වයන් ඔවුනොවුන් තුළ අවිද්‍යාව මුල් වීමෙන්  සං ගති උපදවන බව නොනවතින සංසාර ගමනක යෙදෙන බව ඔබට යථාවබෝධ වෙයි. මේ නිසා ම ඔබේ සිත තුළ සියලු සත්ත්වයන්  කෙරෙහි පවතින උත්තරීතර වූ පිරිසිදු වූ මෛත්‍රී සහගත දැක්ම, වරින් වර ඔබේ සිතේ උපදින්නට එන තරහව නිවාලීමට නිතර නිතර භාවිත වීම (භාවනාව) තුළින්  පුළුල් වෙයි. කවදා හෝ පරම මෛත්‍රියක් බවට ම අරිය මෛත්‍රියක් බවට ම පත් වෙයි. (සූ.දේ.7/සූ.දේ.8)

# 16. රාගයෙන් කැළඹුණු සිතක් සමථයකට පත් වෙන ආකාරය

ඔබේ සිතේ ඇති වූ සුව වේදනාවක් දිගේ සිතුවිලි පවත් වමින් ඔබට දැනුණු ඒ සුව වේදනාව තවදුරටත් ඒ ආකාරයට ම පවත්වා ගැනීමට 'අන්තගාමීව' කටයුතු කරන විට, ඔබේ සිතත් හරියට ගලක් ගැසීම නිසා ඇති වූ කම්පනයකින් කැළඹුණු පොකුණක් මෙනි. ඔබ රාගයෙන් මුසපත්ව කටයුතු කරන මෙවන් අවස්ථාවක ඔබේ සිත තුළ රාග බව ඉපදෙන ආකාරය එනම් අවිද්‍යාව මුල් වී ඔබේ පිරි අපිරි ලෝකය ක්‍රියාත්මක වන ආකාරය ඔබට දැක ගත නොහැකිය.

මෙසේ සිතට රාග බවක් දැනුණු විටක, ඔබ අසා දැන ගත් පිළිකුල් භාවනාවක් කිරීම නිසා සිදු වන්නේ සියල්ල පිළිකුල් කරමින් ඔබ නොදැනුවත්ව ම ද්වේෂ බවක් උපදවා ගැනීමයි. එහෙමත් නැති නම් ඔබ ඉගෙන ගත් අසුභ භාවනාවක වචන පදවැල් මැතිරීමෙන් හෝ මළ මිනියක් සිහි කිරීමෙන් හෝ ඇට සැකිල්ලක් දෙස බලා සිටීමෙන් පවා සිදු වන්නේ, එම ප්‍රිය වේදනාව ඔස්සේ ඔබේ සිත තවදුරටත් රෝද වෙමින් ක්‍රියාත්මක වීම තාවකාලිකව නැවතීමකි. එවිට කැළඹුණු සිත සමථයක්ට පත් වෙයි. එහෙත් සුළු මොහොතකට පසු නැවත රාගය මතු විය හැකිය. (සූ.දේ.15)

ඔබ ඉහත ආකාරයට දිගෙන් දිගට ම සමථය වැඩීම සිදු කළ විට නැවත නැවතත් සිත සමථයට පත් වෙයි. එහෙත් නැවතත් ඔබේ සිත ඔබ ප්‍රිය කරන දෙයකට අන්තගාමී ව ඇලීමෙන් කටයුතු කිරීමේ ස්වභාවයෙන් මිදී නිදහස් වේවිද?

දිනක් ඔබේ කනට ඇසුණේ ඔබ අසා පුරුදු සින්දුවකි. ඔබ නොදැනීම ඔබේ සිත එම සින්දුව නිසා ඇති වූ ප්‍රිය වේදනාව ඔස්සේ ඇදී බැඳී ගියේය. එම සින්දුවේ තනුවට ගායකයාගේ කට හඬට සින්දුවේ තේරුමට වයලීනයේ වාදනයට වෙනත් සින්දු පරයා ඇති වූ දැඩි කැමැත්තකින් ඔබ අශා කළේ ය.

ඔබ හොඳින් විමසමින් කල්පනා කර බලන්න, එම වයලීනයෙන් හඬවන මිහිරි නාදය ඇති වෙන්නේ කෙසේ ද කියා. තහඩු කම්බි ඇණ යොදා සාදා ඇති වයලීනයේ කම්බි අතර දුර වෙනස් කොට නියමිත ආකාරයට ඇණ තද කිරීම නිසා වායු අංශු කම්බි අතර කම්පනයෙන් ඒ මිහිරි හඬත් සින්දුවේ තනුවත් නිර්මාණය කළ හැකි බව ඔබ දන්නවා ඇති. වාදකයා විසින් ඉහත සාධක එකක් හෝ වෙනස් කළ විට එහෙම නැත්නම් ඉහත සාධක එකිනෙකට වෙන් කළ විට ඒ මිහිරි හඬ පවතී ද? එවිට ඔබේ සිතට පෙර මෙන් එම සින්දුව ඇසීමෙන් ප්‍රිය වේදනාවක් ඇති වේවි ද?

එසේ එම සින්දුවට ම එහි ස්වරූපයන්ට ම ඔබේ සිතේ කැමත්තක් ඇති වූයේ ඔබ තුළ ම වූ යම් ගති ස්වභාවයක්

නිසා නොවේද? ඔබ තුළ වූ එම ගති ස්වභාවයන්ට ම සමානම වූ ගති ස්වරූපයන් එම සින්දුව තුළත් තිබෙන විට පමණක් ඔබේ සිත එය කෙරෙහි ඇඳී බැඳී යයි. එසේ නම් මේ සියලු ගති, ඔබ තුළින් මතු වූයේ ඔබ තුළ ම තැන්පත් වී පැවති නිසා නොවේ ද? මෙසේ යළි යළිත් ඔබේ සිතේ ඇති වෙන සුව වේදනාවන් ඔස්සේ වේගයක්, දැඩි වේදනාවක්, ආවේගයක් තුළින් චිත්තා වේගයක් බවට පත් වෙලා සියොලඟ දවා හරින කිළිටි වූ ශක්තියක් ඉපදීම නිසා ම එම කිළිටි වූ රාග ගති තව තවත් බලවත් වන බව ඔබ නොදන්නා පරම සත්‍යය යි. (සූ.දේ.4/සූ.දේ.6)

ඒ වගේම ඔබ නරඹන චිත්‍රපටියක් හෝ කාටුන් දර්ශනයක් යනු කුමක් ද? පරිගණක මෘදුකාංගයක් භාවිතයෙන් නිර්මාණය කරන ලද සත්ත්ව රූප හෝ නළු නිළියන් පෙනී සිටින වර්ණ ගන්වන ලද, හඬ කවන ලද, මනංකල්පිත කතාවක් හෝ සිද්ධියක් පෙන් වන රූප පෙළකි. මේ සියලු රූප සෑදී ඇත්තේ ද, ‘ආපෝ, තේජෝ, වායෝ,පඨවි’ නම් මහා භූතත් ‘වර්ණ, ගන්ධ, රස, ඕජා’ නම් ගති ලක්ෂණයන්ගෙන් යුත් ‘ශුද්ධාෂ්ටක’ වලින් බව තවදුරටත් තේරුම් ගත යුතු යථාර්ථයකි. (සූ.දේ.6)

එසේ යම් චිත්‍රපටියකට හෝ කාටුන් දර්ශනයකට එහි ස්වරූපයන්ට ඔබේ සිතේ කැමත්තක් ඇති වූයේ ඔබ තුළ ම වූ යම් ගති ස්වභාවයන් නිසා නොවේ ද? ඔබ තුළ වූ එම ගති

ස්වභාවයන්ට ම සමාන වූ ගති ස්වරූපයන් ගති ලක්ෂණයන් එම චිත්‍රපටිය හෝ කාටුන් දර්ශනය තුළ  ආපෝ, තේජෝ, වායෝ,පඨවී නම් මහා භූතත් 'වර්ණ, ගන්ධ, රස, ඕජා' නම් ගති ලක්ෂණයන්ගෙන් යුතුව තිබෙන විටක දී පමණක් ඔබේ සිත යම් චිත්‍රපටියකට හෝ කාටුන් දර්ශනයකට ඇදී බැඳී යයි. එසේ නම් මේ සියලු ගති, ඔබ තුළින් මතු වූයේ ඔබ තුළම තැන්පත් වී පවතින නිසා නොවේ ද? (සූ.දේ.6)

මෙසේ  ඔබ ඇසින් දකින ඇතැම්  රූප, කනින් අසන ඇතැම් ශබ්ද රූප, නාසයට දැනෙන ඇතැම් ගඳ සුවඳ රූප, දිවට දැනෙන ඇතැම් රස රූප, ශරීරයට දැනෙන ඇතැම් පහස රූප, මනසට දැනෙන ඇතැම් සිතුවිලි රූප නිසා, ඔබේ සිතට සුව වේදනාවක් දැනෙන විට ඒ සුවය ඔස්සේ ඔබේ සිත සිතුවිලි පවත්වමින් රෝද වෙයි.  (සූ.දේ.4)

එසේ ඔබ සමහර රූප පමණක් සුබ යැයි සලකයි. මේ සියලු රූප නිර්මාණය වී පවතින්නේ ද ඔබ තුළ ම වූ ගති ස්වභාවයන්ට අවේණික වූ ගති ලක්ෂණ වලින් බවත් ඒ නිසා ම ඔබේ සිත ඒ ඔස්සේ හඹා යන බවත් එම රූප සුවයි සුබයි ලෙස ඔබට හැඟෙන බවත් ඔබ නොදන්නා පරම සත්‍යයකි. 'උඩින් ඔපේ යටින් හපේ' යැයි පැරැන්නන් පවසන ලද්දේ ද මේ සැඟව පවත්නා යථාර්තයට වන්නට ද ඇත. (සූ.දේ.6)

ඔබේ සිතේ ඇති වූ සුව වේදනාවක් දිගේ සිතුවිලි පවත් වමින් ඔබට දැනුණු ඒ සුව වේදනාව තවදුරටත් ඒ ආකාරයට ම පවත්වා ගැනීමට 'අන්තගාමීව' කටයුතු කරන විට, ඔබේ සිතේ ප්‍රිය අප්‍රිය ලෙස සාදා ගෙන තියෙන ලෝකය ක්‍රියාත්මක වන අකාරය එනම් ඔබ තුළ වූ 'යථාභූත ස්වභාවය දැක ගැනීමේ හැකියාව' පෙරටු කොට, 'සුබ සියල්ල පසු පස සැඟව පවතින යථාර්ථය' ඔබ දැක ගනු ඇත. (සූ.දේ.7/සූ.දේ.9/සූ.දේ.10)

බඹයක් පමණ වූ ඔබේ ඔය ශරීර කූඩුව තුළ ඔබ විසින් ම ඔබේ සිතින් ප්‍රිය අප්‍රිය ලෙස එනම් කැමති අකමැති ලෙස නිර්මාණය කර ගෙන තිබෙන ලෝකය තුළ වූ 'යථාභූත ස්වභාවය' විද බලන්න (විපස්සනා).මෙසේ ඔබ ලබන ආමිස සුවය තාවකාලික බවත්, එම සුවය ඔබ කැමති ආකාරයට ම නිශ්චිතව ම පවත්වා ගැනීමට ඔබ දරණ උත්සාහය නිෂ්පල බවත් හරසුන් බවත් කෙමෙන් කෙමෙන් ඔබට ම වැටහෙන්නට ඉඩ හරින්න. එවිට ඔබ තුළ 'යථා භූත ඥාන දර්ශනයක්' ඇති වෙන්නට ඉඩ ප්‍රස්තාව ලැබෙනු ඇත.

එවිට ඔබ තුළ පැළපදියම් වී පවතින ගති ලක්ෂණවලට අනුව ඔබ විසින් යම් යම් සත්ත්ව පුද්ගල අවස්ථා සිද්ධි සම්බන්ධව සුබ යැයි සලකා රාගයෙන් මත් වී කටයුතු කරන ස්වභාවය කෙමෙන් කෙමෙන් අත හැරෙනු ඇත (සුබ අතහැරී යාම = අසුබ). මේ අසුබ අනුස්සති යයි. එය හුදෙක්

පද මැතිරීමක්, සජ්ඣායනාවක් හෝ පුරුදු පුහුණුවීමක් නොවෙයි. එවිට ඔබේ සිතේ සුව වේදනාව බිහි වී ඇති වී පැවති නැති වෙලා යන අයුරු ඔබ දැක ගනු ඇත. පෙර ඇති වූ රත්වීම මත්වීම වෙනුවට මෙහිදී ඔබේ සිත නිවෙන, මිදෙන, සැනසෙන හැටි ඔබට ම අත් දැක ගත හැක. (සූ.දේ.7)

කැළඹුණු පොකුණක් ස්වාභාවිකව ම සෙමෙන් සෙමෙන් සමථයකට පත් වී නිසල වෙයි. මේ ආකාරයට ඔබේ සිතේ ඇති වූ සුව වේදනා නිසා මුසපත් බවින් වර්ධනය වෙන රාගයේ ගිනි දැල් නිවාලිය හැක්කේ ද රාගයෙන් කැළඹුණු සිත නැමැති පොකුණ සමථයට පත් කළ හැක්කේ ද ස්වභාවිකත්වයට ඉඩ දීමෙනි. (සූ.දේ.7/සූ.දේ.9/සූ.දේ.10)

එනම් ඔබේ සිතින් ප්‍රිය අප්‍රිය ලෙස ඔබ සාදා ගෙන තියෙන ලෝකය ක්‍රියාත්මක වන ආකාරය එහි සත්‍යය දැක ගැනීමෙන් ලද දැක්ම මූල් වීමෙනි. මෙම දැක්ම හුදෙක් පද මැතිරීමකින් හෝ සජ්ඣායනාවකින් හෝ මළ මිනි ඇට සැකිළි දෙස බලා සිටීමෙන් ඇති වන්නක් නොවන බව ඔබ අත් දැක ගත යුතු පරම සත්‍යයයි. මෙය ඔබ තුළ විපස්සනාව හෙවත් යථා භූත ඥාන දර්ශනයක් පෙරටු වීම තුළින් ම ඔබ තුළ ක්‍රියාත්මක වන අසුභ අනුස්සති භාවනාවයි. (සූ.දේ.7)

## 17. ඔබේ ලෝකය සැබැවට ම ක්‍රියාත්මක වෙන ආකාරය දැකීම

ඔබ ගමන් කළ අනර්ඝ මෝටර් රථය ගසේ හැපී අලාභ හානි සිදු වූ විටදීත්, ඔබේ බිරිඳ නිවසේ වැඩට උදවු කරන ලෙස පවසා ඔබට දොස් පවරන විටදීත්, විශ්ව විද්‍යාල සිසුවා ඔබට කළ පළිගැනීමේදීත් ඔබේ සිතේ රත්වීමක් පිච්චීමක් ඇති වූ හැටි ඔබට මතක ද? එහෙත් ඔබ නිවසේ දී හෝ කාර්යාලයේ දී හෝ එදිනෙදා වැඩ කටයුතු සිදු කරන විට බොහෝ කාර්යයන් වලදි ඔබේ සිතේ එසේ රත්වීමක් පිච්චීමක් ඇති නොවන බව විමසිලිමත්ව අත් දකින්න. (සූ.දේ.7)

ඔබේ ඇසට දකින රූපය, කනට ඇසෙන ශබ්දය, නාසයට දැනෙන ගඳ සුවඳ, දිවට දැනෙන රස, ශරීරයට දැනෙන පහස, මනසට දැනෙන ධම්ම රූප ඔස්සේ සිත ක්‍රියාත්මක වෙන විට, ඔබ තුළ වූ පිරි අපිරි ලෝකයට අනුව (ඉච්ච) ඔබේ සිතේ සුඛ හෝ දුක්ඛ හෝ අදුක්ඛම අසුඛ වේදනාවන් ඇති වෙයි. මේ වේදනාවල ස්වභාවය ද පුද්ගලයාගෙන් පුද්ගලයාට පවා එකිනෙකට වෙනස්ය. මෙසේ ඔබ දවසේ සිදු කරන බොහෝ කටයුතු වලදි ඉන්ද්‍රිය ස්වභාවය මුල් වීමෙන් ස්වාභාවිකවම කටයුතු කරයි.මෙහිදි ඔබට රත්වීමක්, පිච්චීමක්, මත්වීමක් ඇති නොවෙයි. (සූ.දේ.6)

මේ සියලු වැඩ සිදු කරන අතර තුර ඔබේ සිත රත් වෙන අවස්ථා, ගිනි ගන්නා අවස්ථා සිදු වන්නේ දිනකට ඉතා සීමිත සංඛ්‍යාවකි. එවැනි අවස්ථා ඔබ අත් දැක ඇත්නම්, ඔබේ සිත අභ්‍යන්තරයේ සංගති (රාග, ද්වේෂ, මෝහ ගති) ඉපදුණ බවත් (අන්තො ජටා) යම් අස්වභාවික වූ ක්‍රියාවලියක් සිදු වූ බවත් ඔබට පැහැදිලිව ම අත් දැක ගත හැක. මෙහිදි ඔබේ ඉන්ද්‍රිය ක්‍රියාත්මක වීම ඉක්මවා ගිය ආයතනික ක්‍රියාවලියක් සිදු වෙයි. මෙම අවස්ථාවන් වලදී ඔබ තුළ ඇති වෙන පිරි අපිරි ලෝකයත්, එය ක්‍රියාත්මක වන ආකාරයත් නොදැකීම අවිද්‍යාවයි. ඒ නිසා ම ඔබ මුලාවට පත් වී මත්වීමෙන් අන්ධ භාවයකින් කටයුතු කොට සංගති උපදවයි. ගිනි ගන්නා රත් වෙන පිච්චෙන ලෝකයක් උත්පාදනය කර ගනියි. (සූ.දේ.2/සූ.දේ.4)

'ඔබේ මෝටර් රථය හැමදාමත් එහි අනර්ඝ තත්ත්වය පවතින ලෙසින් පවත්වා ගැනීම' ඔබේ කැමැත්තයි. 'ඔබේ බිරිඳ ඔබේ සිත රිදෙන ලෙස කිසිවක් නොකියා සිටීම' ඔබේ කැමැත්තයි. 'ඔබේ යහළුවන් ඔබට හිරිහැරයක් නොකර සිටීම' ඔබේ කැමැත්තයි. මෙසේ සියලු සත්ත්වයෝ ඔවුනොවුන් කැමති අකමැති ලෙස පිරි අපිරි ලෝකයක් නිර්මාණය කර ගෙන ඇත. ඔවුනොවුන්ගේ පිරි අපිරි ලෝකය ද එකිනෙකාට වෙනස්ය. ඒ ඔවුනොවුන් තුළ තැන්පත්ව පවතින සං ගති ලක්ෂණ ද එකිනෙකට වෙනස් වන නිසාවෙනි. (සූ.දේ.6)

ඔබ 'කැමැති දෙය සිදුවීම' ඔබේ කැමැත්තයි. ඔබේ කැමැත්ත (ඉච්ච) පරිදි ම යම් දෙයක් සිදු වූ විට ඔබේ සිතේ ප්‍රිය වේදනාවක්, සුඛ වේදනාවක් ඇති වෙයි. එවිට එම කැමැත්තට (ඉච්චට) ඔබ 'අන්තගාමීව' ඇලෙයි. එනම් 'පටි ඉච්ච' වෙයි. මේ නිසාම එම අධික කැමැත්ත (අභි ඉච්ච) තවදුරටත් නිශ්චිතව ම ඔබ කැමති ආකාරයට දිගින් දිගටම පවත්වා ගැනීමට උත්සහ කරයි (නිච්ච). (සූ.දේ.4)

ඔබ 'අකමැති දෙයක් සිදු නොවීම' ඔබේ කැමැත්තයි. ඔබේ කැමැත්ත පරිදි ම (ඉච්ච) එය එසේ සිදු නොවන විට, එනම් ඔබ අකමැති දෙයක් සිදු වෙන විට ඔබේ සිතේ අප්‍රිය වේදනාවක්, දුක වේදනාවක් ඇති වෙයි. එම අකමැති දෙය සිදුවීම නිසා ඔබ 'අන්තගාමීව' එයට ගැටෙමින් විරුද්ධව කටයුතු කිරීමට කැමති වෙයි (පටි ඉච්ච). ඔබ එම 'අකමැති දෙය තවදුරටත් සිදු නොවන' ලෙසින් පවත්වා ගැනීමට අධික කැමැත්තකින් (අභි ඉච්ච) නිශ්චිතව ම දිගින් දිගටම උත්සහ කරයි (නිච්ච). (සූ.දේ.4)

ඕනෑම දෙයක් පුද්ගලයෙක් වස්තුවක් සිදුවීමක් නියත ලෙසම වෙනස් වීමට භාජනය වෙයි. එම වෙනස් වීම ඔබේ කැමැත්ත පරිදි ම සිදු නොවෙයි (විපරිණාමය). 'ඔබ කැමති ආකාරයට ම යම් දෙයක් නිශ්චිතව ම පවත්වා ගන්නට දරන උත්සාහය' (නිච්ච) අසාර්ථක වූ විට එනම් එය එසේ සිදු නොවන විට (න නිච්ච = අනිච්ච), ඔබට දුක උරුම වෙයි.

ඔබ කැමති වූ ප්‍රිය වූ ආකාරයට යම් දෙයක් සිදු නොවන විට එය එහි දෙවෙනි වේෂයට පෙරළෙයි. මේ නිසා ඔබට අවසානයේ දී  සෝක පරිදේව දුක් දොම්නස් උපායාස නැමති දුක් ගිනි නිතැතින් ම උරුම වෙයි. (සූ.දේ.5)

ඔබේ සිත තුළ දුක් වේදනාවක් ඇති වී ඒ ඔස්සේ සිත ඒ මේ අත සිතුවිලි පවත් වමින් තවදුරටත් රෝද වෙමින් තරහ බවක් ද්වේෂ බවක් උපදවන අවස්ථාවක් හඳුනා ගැනීමට ඔබ දක්ෂයෙකු වන්නේ නම්, ඔබට ඒ ඒ අවස්ථාවේදී මේ දුක ඇත්තට ම උපදින ආකාරයත් එම දුක නැමති ඵලයට හේතුව කුමක් දැයි අත් දැක ගත හැකිය. එනම් ඔබ තුළ වූ පිරි අපිරි ලෝකය  ක්‍රියාත්මකවන ආකාරය දැක ගැනීමට හැකි වෙනු ඇත. (සූ.දේ.7/සූ.දේ.9/සූ.දේ.10/සූ.දේ.19)

ඔබ මෙවැනි අවස්ථාවකදී මම යැයි, මට යැයි, මගේ යැයි, මට කැමති ලෙස සියල්ල පවත්වා ගත හැකි යැයි පනවාගත් මමත්වය හෙවත් අත්ථ සංඥාවෙන් කටයුතු කරයි. එහෙත් ඔබ යැයි, ඔබේ යැයි, ඔබ පවත්වන්නට උත්සහ ගන්නා පිරි අපිරි ලෝකය, ඔබ කැමති ආකාරයට ම නොපවතියි. එය විපරිණාමයට පත් වෙයි. එනම් මමත්වයෙන්, අත්ථ බාවයකින් ඔබට කැමති සේ පවත්වා ගැනීමට නොහැකි වෙයි (න අත්ථ=අනත්ථ). මේ බුද්ධ දේශනාවේ සඳහන් ත්‍රිලක්ඛණ ධර්මතාවයයි. මෙම ධම්මතාවය ඔබ තුළ ක්‍රියාත්මක වන ආකාරය, සංගති උපදින අවස්ථාවන්වල දී

ඔබට දැක ගත හැකි නම් ඔබ සත්‍යය දකින්නෙකි. ඔබ තුළ වූ පිරි අපිරි ලෝකය ක්‍රියාත්මක වන ආකාරය, ඔබ නිවැරදිව දකියි. එය විද්‍යාවයි. එම ක්‍රියාත්මක වීමේ යථාභූත ස්වභාවය අත් දැක ගැනීමයි. මේ මරණ අනුස්සතියයි. හුදෙක් පද මැතිරිල්ලක් සජ්ඣායනාවක් පුරුදු පුහුණු වීමක් නොවෙයි.

ඔබේ කැමැත්ත සිදුවීම හෝ නොවීම හමුවේ එහි සත්‍යය දැක කටයුතු කළ හැකි නම්, ඔබේ සිතේ උපේක්ඛා බවක් ඔබේ සිතට නිවීමක් මිදීමක් දැනෙන බව, ඔබේ සිත මත් වී රත් නොවන බව ඔබ ම අත් දැක ගන්න. මෙසේ සිදු වන්නේ ඔබේ සිතින් ප්‍රිය අප්‍රිය ලෙස ඔබ සාදා ගෙන තියෙන ලෝකය තුළ වූ 'යථාභූත ස්වභාවය' විද බැලීමෙන් (විපස්සනා) ඔබ ලබන ආමිස සුවය තාවකාලික බවත්, එම සුවය ඔබ කැමති ආකාරයට ම නිශ්චිතව ම පවත්වා ගැනීමට ඔබ දරණ උත්සාහය නිෂ්ඵල බවත් හරසුන් බවත් අත් දැක ගැනීමෙන් ම උපේක්ඛාව ක්‍රියාත්මක වන මොහොතකයි. (සූ.දේ.4/සූ.දේ.5/සූ.දේ.7/සූ.දේ.8/සූ.දේ.9/සූ.දේ.19)

මෙය බුද්ධ අනුස්සති භාවනාවයි. ඔබ තුළ කුසලමූල පටිච්චසමුප්පාද ධම්මතාවය භාවිත වීම (භාවනාව) ක්‍රියාත්මක වීමයි. ඔබ පෙර විඳි තාවකාලික වූ ආමිස සුවයෙන් මිදී නිදහස්ව ලබන නිරාමිස සුවයේ වූ සැබෑ සුවය, ඔබ කෙමෙන් කෙමෙන් අත් දැක ගනී. මේ "බුද්ධ ආනාපාන සති සමාධි භාවනාවයි". (සූ.දේ.7/සූ.දේ.19)

## 18. කල දුටු කළ වළ ඉහ ගැනීම

ඔබ ප්‍රිය කරන දෙයකට 'අන්තගාමීව' ඇලීමෙන් කටයුතු කිරීම නිසා රාග ගතිත්, අප්‍රිය කරන දෙයකට 'අන්තගාමීව' ගැටීමෙන් කටයුතු කිරීම නිසා ද්වේෂ ගතිත්, ප්‍රිය අප්‍රිය අතර වැරදි සේ මනිමින් 'අන්තගාමීව' කටයුතු කිරීම නිසා මෝහ ගතිත් (අනුසය) උපදවා ගනියි. සමහර අවස්ථාවන්වලදී ඔබ බාහිර පුද්ගලයන්ට හිංසා පීඩා කිරීමෙන් කටයුතු කිරීම නිසා බාහිර ණය ගනුදෙනු හෙවත් බහි ජටා වැඩි කර ගනියි. මෙම අවස්ථාවන්වලදී ඔබේ සිත මත් වෙලා රත් වෙලා වෙහෙසට පත්ව කළු කෙළෙස් ගති උපදවා ගෙන ඒවා සිත තුළ 'ආසය' ලෙස තැන්පත් කර ගනියි. එනම් අභ්‍යන්තර ණය ගනුදෙනු හෙවත් අන්තො ජටා ද ඇති කර ගනියි. (සූ.දේ.2)

මේ 'කළු' හෙවත් 'කල' ඉපදීම දුටු විගස එනම් දුටු කළ (අනුසය උපදින විට) ඔබේ ලෝකය සැබැවින් ම ක්‍රියාත්මක වන ආකාරය ඔබට දැක ගත හැකි නම්, 'ඔබ කැමති ආකාරයට ම නිශ්චිතව ම පවත්වා ගන්නට උත්සහ දරණ ඔබේ පිරි අපිරි ලෝකය' පිටුපස සැඟව පවත්නා යථාර්ථය ඔබ දැක ගනු ඇත. (සූ.දේ.18)

එවිට කැළඹී පවතින සිත නැමති පොකුණ කෙමෙන් කෙමෙන් ස්වාභාවිකව ම නිශ්චල වෙනු ඇත. ඒ සමගම ඔබට ඔබේ චිත්තසංථානය නැමැති පොකුණේ පතුලේ

තැන්පත්ව පවත්නා ඔබ විසින් නිච්ච, සුඛ, අත්ථ ලෙස පවත්වා ගෙන යන කළු ගති හෙවත් කුණු රොඩු ඒ ඒ සිදුවීමට අදාළව ඇති කර ගත් ගති ස්වභාවයන්ට අනුව ම දැක ගත හැකිය. (සූ.දේ.10/සූ.දේ.18)

එම කුණු හෙවත් කළු ගති උපදවමින් ඔබේ පිරි අපිරි ලෝකය ක්‍රියාත්මක වන ආකාරය හෙවත් යථා අයුරින් බිහි වෙන (යථා භූත) ස්වභාවය එනම් අනිච්ච බව, දුක්ඛ බව, අනත්ත බව ඔබ අත් දැක ගත් විට, එනම් විපස්සනාව තුළින් 'ආන' වන විට චිත්තසංථානය නම් පොකුණ පතුලේ තැන්පත්ව තිබූ කුණු රොඩු (ආසය) ස්වාභාවිකව ම පහ වී 'පාන' වනු ඇත. මෙය රාග බව, ද්වේෂ බව, මෝහ බව හෙවත් බව උදුරා දැමීමට 'බව උද්ධ හෙවත් බුද්ධ' වීමට උපකාර වෙන "බුද්ධ ආනාපාන සති සමාධි භාවනාවයි". මෙය ඔබ මෙතෙක් අත් දැක නොමැති පරම සත්‍යයයි. (සූ.දේ.7)

මේ ආකාරයට ඔබ තුළ ක්‍රියාත්මක වන ලෝකයේ සත්‍යය විද බැලීම නිසා ඔබ තුළ අවිද්‍යාමූල නිරෝධ පටිච්ච සමුප්පාදය ධර්මතාවයත්, කුසල මූල පටිච්ච සමුප්පාද ධර්මතාවයත් ක්‍රියාත්මක වෙනු ඇත. ඔබේ ප්‍රඥා ඇස පහළ වී යථා භූත ඥාන දර්ශනයක් ඇති වෙනු ඇත. දිගින් දිගට ම කළු දුටු කළ වළ ඉහ ගැනීම නිසා චිත්තසංථානය නැමති පොකුණේ තැන්පත් වී පවතින සියලු කෙළෙස් ගති කුණු

රොඩු ස්වභාවිකත්වයට ඉඩ දීමෙන් ම ප්‍රහාණය වී යනු ඇත. එනම් වළ ඉහෙනු ඇත. අවිද්‍යාව නැමති බානෙන් මිදී නිබ්බාන සුවයට පත් වෙනු ඇත. (සූ.දේ.7/සූ.දේ.9/සූ.දේ.10)

මෙසේ ඔබේ චිත්තසංථානය නැමැති පොකුණේ තිබෙන මඩ කුණු රොඩු සියල්ල ස්වභාවික වූ ක්‍රියාවලියක් මගින් ස්වභාවිකත්වයට ඉඩ දීමෙන් ම එම කුණු රොඩු මතු වෙන අවස්ථාවල දී ටිකෙන් ටික ඉවත් කළ හැකි නම් (අනුත්පාද නිරෝධය) නැවත පොකුණට එකතු වෙන කුණු රොඩු සියල්ලත් (අනුසය) පොකුණේ පතුලේ තැන්පත්ව පවතින කුණු රොඩු සියල්ලත් (ආසය) සම්පූර්ණයෙන් ම කෙදිනක හෝ ඉවත් කළ දැමිය හැකිය. (සූ.දේ.18/සූ.දේ.19)

ඔබ කුමන හෝ ක්‍රියාවක් බලෙන් සිදු කර මෙම පොකුණේ පතුලේ තැන්පත්ව තිබෙන මඩ කුණු රොඩු සියල්ල සම්පූර්ණයෙන් ම ඉවත් කිරීමට ගිය හොත් පොකුණ නැවත නැවතත් කැළඹීම සිදු විය හැකිය. එසේ වුවහොත් ඔබට කිසිදා කුණු රොඩු සියල්ල ඉවත් කර දැමිය නොහැකි වනු ඇත. මෙසේ යථා භූත ඥාන දර්ශනයක් ඇති වූ පුද්ගලයා, කළු හෙවත් කෙළෙස් දුටු තැන ප්‍රඥාවෙන් කටයුතු කරයි. ඒ නිසා ම ඔහු දුකින් කම්පනයෙන් බයෙන් මිදි නිදහස් වෙයි. ‘පිරුණු කළේ දිය නොසැලේ’ යැයි අතීතයේ පැරැන්නන් විසින් හඳුන්වනු ලැබුවේ මෙවැනි ප්‍රඥාවන්ත පුද්ගලයන් තුළ වූ යථා භූත ඥාන දර්ශනයේ පරිපූර්ණත්වයයි.

## 19. බිලී කොක්කට හසු නොවී ඇම කන ආකාරය

ධීවරයා විසින් මසුන් අනුභව කරන ආහාරයක් එනම් ‘ඇමක්’ රැඳ වූ බිලී කොක්කක් ජලයට දැමූ පසු එම ‘ඇම’ දකින මාළුවා එම ආහාරය කෙරෙහි ඇති වූ දැඩි ආශාව නිසා එකවරම එම ඇම ගිල දැමීමට උත්සහ කරයි. එවිට මාළුවාගේ කට බිලී කොක්කේ ඇමිණීම නිසා මාළුවා උගුලට හසු වෙයි. ධීවරයා විසින් පහසුවෙන් ම දියෙන් ගොඩට ගත් මාළුවා ටික වේලාවකට පසු මිය යයි. ‘ඇම’ පිටුපස සැඟව පවතින බිලී කොක්ක නොදැකීම හේතුවෙන් මාළුවාට එම විපත උරුම විය.

මාළුවා ජලය තුළ දී දකින සියලු වස්තූන් කෙරෙහි දැඩි ආශාවකින් කටයුතු නොකරයි. මේ අකාරයට ම, ලොව ජීවත් වෙන සියලු සත්ත්වයෝ ද ඔවුන් ජීවත් වෙන පරිසරයේ සිටින සියලු සත්ත්වයන් පුද්ගලයන්, ගෙවල් දොරවල්, දේපල සැප සම්පත්, නිල තල, නම්බු නාම බඩු බාහිර ආදී සියල්ල කෙරෙහි ‘අන්තගාමීව’ ඇලීමෙන් හෝ ගැටීමෙන් හෝ මැනීමෙන් කටයුතු නොකරති. ඒ ඒ සත්ත්වයන්ගේ සිත ‘අන්තගාමීව’ ඇලෙන්නේ හෝ ගැටෙන්නේ යම් යම් දේවල් කෙරෙහි පමණි. එසේ ඒ ඒ පුද්ගලයා ඇලෙන ගැටෙන බාහිර වස්තු ප්‍රමාණය පරිසරය තිබෙන සියලු වස්තුවලට සාපේක්ෂව ඉතාමත් ම සුළු කොටසකි. (සූ.දේ.6)

ඔබේ ඇසට දකින රූප, කනට ඇසෙන ශබ්ද රූප, නාසයට දැනෙන ගඳ සුවඳ රූප, දිවට දැනෙන රස රූප, ශරීරයට දැනෙන පහස රූප, මනසට දැනෙන ධම්ම රූප 'සියල්ලට ම ඔබ තුළ ප්‍රිය බවක් හෝ අප්‍රිය බවක් ඇති නොවෙයි'. ඔබ තුළ වූ රාග ගති ස්වභාවයන්ට ම සමාන වූ ගති ස්වරූපයන් ගති ලක්ෂණයන් ඇති බාහිර වස්තු කෙරෙහි, සමහර අවස්ථාවන්වල දී පමණක් ඔබේ සිත තදින් ම ඇදී බැදී යයි. ඔබ දැඩි ආශාවකින් ඒ ඒ වස්තූන් ඔබ සතු කර ගැනීමට ඔබ කැමති ආකාරයට ම පවත් වන්නට එනම් නිච්ච සේ සුබ සේ අත්ථ සේ පවත් වන්නට උත්සහ කරමින් නැවත නැවතත් රාග ගති උපදවා ගනියි. (සූ.දේ.3/සූ.දේ.4/සූ.දේ.10)

ඔබ තුළ වූ ද්වේෂ ගති ස්වභාවයන්ට ම සමාන වූ ගති ස්වරූපයන් ගති ලක්ෂණයන් ඇති බාහිර වස්තු කෙරෙහි සමහර අවස්ථාවන්වල දී පමණක් ඔබේ සිත තදින් ම ගැටී විරුද්ධව කටයුතු කරයි. ඔබ දැඩි අකමැත්තකින් ඒ ඒ වස්තූන්ගෙන් ඈත් වීමට, ඔබ කැමති දෙය කෙසේ හෝ සිදු කර ගැනීමට උත්සහ කරමින් එනම් නිච්ච සේ සුබ සේ අත්ථ සේ පවත් වන්නට උත්සහ කරමින් නැවත නැවතත් ද්වේෂ ගති උපදවා ගනියි. මෙසේ සියලු සත්වයෝ සං ගති ඉපදවීමේ දී ලැබෙන තාවකාලික වූ ආස්වදය නිසා ම එම ආමිස සුවය සාර සේ සුබ සේ දකිමින් නැවත නැවතත් සං ගති උපදවමින් නොනවතින සං සාර ගමනක යෙදෙති. (සූ.දේ.1/සූ.දේ.2/සූ.දේ.3/සූ.දේ.10)

මාළුවා 'ඇම' සාර සේ සුබ සේ දැක ඉවසීමකින් විමසීමකින් තොරව මුලාවෙන් කටයුතු කොට බිලී කොක්කට හසු වූවා සේම සියලු සත්ත්වයෝ ද තාවකාලික වූ 'ආමිස සුවය' නැමති ඇමට රැවටී මුලාවෙන් එනම් අවිද්‍යාවෙන් කටයුතු කොට සං ගති උපදවා ගනිති. මාළුවා 'ඇම' පිටුපස සැඟව පවත්නා 'බිලී කොක්ක' නොදකියි. ඔබ ද රාග ද්වේෂ මෝහ නැමති සං ගති උපද වන විට එයින් ලැබෙන 'ආමිස සුවය නැමති ඇමට' ලොල් වෙමින් කටයුතු කරද්දී එම ඇම පිටුපස සැඟව පවත්නා යථාර්ථය නොදකියි. එනම් ඔබ තම තමන්ගේ පිරි අපිරි ලෝකය සත්‍යය ලෙසින් ම ක්‍රියාත්මක වෙන ආකාරය නොදකියි. ඒ නිසාම 'අවිද්‍යාව නම් බිලී කොක්කේ' ඇමිණෙමින් සංසාර උගුලට හසු වෙයි. (සූ.දේ.1/සූ.දේ.2)

පටිච්ච සමුප්පාද ධර්මයයේ තිපරිවට්ටය තම තමන් තුළ ක්‍රියාත්මක වෙන ආකාරය තම තමන් තුළින් ම අත් දැක ගත් පුද්ගලයා තුළ 'යථා භූත ඥාන දර්ශනයක්' ඇති වෙයි. එම පුද්ගලයා තමන් ට කටයුතු කිරීමට සිදු වෙන අවස්ථා සිද්ධි වස්තු පුද්ගලයන් සත්ත්වයන් ඇසුරින් තම සිතේ සං ගති උපදින අවස්ථාවන් වෙතොත් ඒ ඒ අවස්ථාවන්වල දී තම තමන්ගේ පිරි අපිරි ලෝකය ක්‍රියාත්මක වෙන ආකාරය එනම් එහි සත්‍යය විද බැලීමෙන් ම (විද්‍යාව) අවිද්‍යාවට හසු නොවෙයි. (සූ.දේ.7/සූ.දේ.9/සූ.දේ.10/සූ.දේ.19)

ඔබ තුළ සං ගති උපදින්නේ 'ඔබට නොයෙකුත් අවස්ථා සිද්ධි වස්තු පුද්ගලයන් සත්ත්වයන් ඇසුරු කිරීමට සිදු වූ නිසා' යැයි සිතමින් ඔබ ඔවුන්ගෙන් වෙන් වී සමාජයෙන් ඈත් වී හුදෙකලා ජීවිතයක් ගත කිරීමට සිතයි. රූපවාහිනිය නැරඹීම,ප්‍රිය සම්භාෂණවලට සහභාගීවීම්,ව්‍යාපාරික කටයුතු කිරීම, අවාහ විවාහ සිදු කර ගැනීම්, දරුවන් බිහි කිරීම් ආදී ක්‍රියාවන් නිසා කෙළෙස් උපදියි සිතා එම ක්‍රියාවන්වලින් බැහැරව සිටීමට කල්පනා කරයි. සැබවින් ම එසේ සිදු කිරීමෙන් ඔබට සං ගති නූපදවීම කළ හැකි ද? (සූ.දේ.16)

ඔබ ඔබට ම වාරණ දමා තහංචි දමා කටයුතු කරන විට ඔබ තුළ ඇති වෙන පීඩාව ආතතිය කොතෙක් ද ? එසේ වාරණ දමා ගැනීමෙන් ඔබ විසින් වැඩි වැඩියෙන් සං ගති උපදවා ගනියි. ඔබ තුළ සං ගති උපදින්නේ 'බාහිර වස්තු නිසා නොව එම බාහිර නිමිතිවලට අනුරූප ව ඔබ තුළ පැළපදියම් වී පවතින සං ගති ලක්ෂණ පොදිය කැළඹීමෙන් නැවතත් ඔබේ සිතේ අවිද්‍යාව ක්‍රියාත්මක වීම නිසා බව' ඔබ විසින් අත් දැක ගත යුතු පරම සත්‍යයයි. (සූ.දේ.4/සූ.දේ.6)

ඔබ එම සියලු වැඩ කටයුතුවල නිරත වීමෙන් ම ඔබ තුළ පැළපදියම් වී පවතින සං ගති ලක්ෂණ පොදිය කැළතීමට අවස්ථාව ලබාදීමෙන් ම,ඔබේ සිතේ අවිද්‍යාව ක්‍රියාත්මක වීම නිසා ඔබට ම ආවේණික වූ ඔබ තුළ පවතින ඒ ඒ ආකාරයේ ගති ලක්ෂණ 'අවිද්‍යා මූල පටිච්ච සමුප්පාද

ධම්මතාවයට’අනුව ක්‍රියාත්මක වෙන ආකාරය පළමුව හඳුනා ගත යුතුය (‘ධම්මෝ සංදිට්ඨිකෝ’ වීම). (සූ.දේ.18)

ඒ ඒ අවස්ථාවන්වල දී ඔබට ම ආවේණික වූ ඔබ ‘නිච්ච සේ සුඛ සේ අත්ථ සේ’ පවත්වා ගෙන යන ගති ලක්ෂණ මතු වෙන විට ‘තම තමන්ගේ පිරි අපිරි ලෝකය සැබවින් ම ක්‍රියාත්මක වෙන ආකාරය විද බැලීමෙන් ම’ (විද්‍යාව) ඔබ තුළ ‘අවිද්‍යා මූල නිරෝධ පටිච්ච සමුප්පාද ධම්මතාවය’ ක්‍රියාත්මක වෙයි. (සූ.දේ.5/සූ.දේ.7)

ඔබ විසින් නිච්ච සුඛ අත්ථ සේ පවත්වා ගෙන යන ගති ලක්ෂණ ‘අනිච්ච බව දුක්ඛ බව අනත්ථ බව’ ඔබ අත් දැක ගනියි. ඔබ ඒ ඒ අවස්ථාවේ දී අවිද්‍යාවට හසු නොවී ‘මුලාව පිටුපස සැඟව පවත්නා යථාර්ථය දැකීම’ නිසා උපදවමින් පැවති කුණු හෙවත් කළු ගතියේ කුණු සැලී යයි. මෙලෙස ඔබ තුළ කුසල මූල පටිච්ච සමුප්පාද ධම්මතාවය ක්‍රියාත්මක වීමෙන් ස්වාභාවිකත්වය ට ඉඩදීමෙන් ම ඔබ තුළ වරින් වර මතු වෙන සියලු කුණු ගති පහව යයි.(සූ.දේ.19)

ඔබට ඇම පිටුපස සැඟව පවත්නා යථාර්ථය දැක ගැනීමෙන් බිලී කොක්කට හසු නොවී ඇම අනුභව කළ හැකිය. මෙහිදී සිදු වන්නේ ඔබ ‘යමක් බලෙන් අත හැරීමක්’ හෝ ‘තමන් විසින් සං නූපදවා සිටීමට වාරණ දමා ගැනීමක්’ නොව ඔබේ ‘නිච්ච සුඛ අත්ථ’ ලෝකය පහව යාමෙන් එනම් ‘අත හැරී යාමෙන්’ නිරාමිස සුවයක් අත් දැක ගැනීමයි. (සූ.දේ.9)

## 20. පණ්ඩිතයාට ඒ දණ්ඩේ යා නොහැක

අද සම්මත සමාජයේ ‘පණ්ඩිතයා’ යනු සියල්ල දත් පුද්ගලයෙකි. ඒ නිසාම එවැනි පුද්ගලයෙකු ඒ දණ්ඩෙන් ගමන් කරන්නට පෙර, එම ඒ දණ්ඩ ගැන, එහි ශක්තිමත් බව ගැන, ඒ දණ්ඩෙන් ගමන් කරන විට සිදු විය හැකි අනතුරු ආදිය ගැන තමා දන්නා කරුණු කාරණා වලට ගළපමින් තර්කානුකූලව සිතමින් දිගින් දිගට ම කල්පනා කරයි. ඒ නිසා ම ඔහු ඒ දණ්ඩ මතින් ගමන් කිරීමක් සිදු නොකරයි.

යම් පුද්ගලයෙකුට බුද්ධ දේශනා අඩංගු ත්‍රිපිටයේ සඳහන් සියලුම සූත්‍ර දේශනා ඉගෙන ගෙන පණ්ඩිතයෙක් විය හැකිය. ඔහු තමා උගත් දහම් කරුණු කාරණා අර්ථකථන එකිනෙකට සම්බන්ධ කරමින් ගළපමින් පොත් පත් කියවමින් ලියමින් නැවතත් තමන් තුළ පිරි අපිරි ලෝකයක් නිර්මාණය කර ගනියි. මේ ‘දැනුම’ නැමති තමා ම නිර්මාණය කරගත් සම්මත ලෝකය තුළ ඔහු තව තවත් අතර මං වෙයි. බුද්ධ දේශනාවේ සඳහන් වන දහ හත්දාහක් පමණ වූ සූත්‍ර දේශනා වලින් කිය වෙන පටිච්ච සමුප්පාද ධම්මතාවය තමන් තුළින් අත් දැක ගැනීමට නම්, කවුරු හෝ වුවද ඒ දණ්ඩ මතින් ගමන් කළ යුතු ය. එනම්, නිවැරදි වූ සිරි සද්ධර්මය ම පටිච්ච සමුප්පාද ධම්මතාවයේ තිපරිවට්ටය ම තමන් තුළින් විමර්ශනය කර,එම ධම්මතාවය

තම තමන් තුළ ක්‍රියාත්මක වන ආකාරය, එනම් තම තමන් දරන ආකාරය (ධම්ම) තම තමන් තුළින් ම අත් දැක ගත යුතුය. ඔහු ඒ දණ්ඩ මතින් ගමන් කරන්නෙකි. (සූ.දේ.4)

එම පුද්ගලයා පළමුව තමා තුළ සංගති උපදින ආකාරය දකියි. එනම් අවිද්‍යාව මුල් වීමෙන් තමන් තුළ සං ගති උපදින ස්වභාවය හෙවත් තමන් දරණ ස්වභාවය දකියි (ධම්මෝ සංදිට්ඨිකෝ වෙයි). සංගති ඉපදීම සිදු වෙන අවස්ථාවන්වල තම තමන්ගේ පිරි අපිරි ලෝකය ක්‍රියාත්මක වෙන ආකාරයේ සත්‍යය දැකීමෙන් ම සියලු සංගති වලින් මිදී නිදහස් විය හැකි බවත් එම සියලු සං ගතිවල නිර්මාණකරුවා තමන් ම බවත් දකියි (සම්ම දක්ඛාතා). මෙසේ සං ගති උපදවමින් යන සංසාර ගමනින් තමන්ට මිදී නිදහස් විය හැකි බව දැක එම පුද්ගලයා 'සම්මා දිට්ඨියට' පත් වෙයි. (සූ.දේ.18)

එම පුද්ගලයා අශ්‍රැතවත් පෘතග්ජන භාවයෙන් මිදී නිදහස් වූ සුතවත් අරිය ශ්‍රාවකයෙකි. සංසාර ගැටයට අහුවෙන උගුලෙන් නිදහස් වීමට උපාය දැන දැක ගත් අයෙකි. ඔහු සතර අපා ගත වීමට හේතු වෙන කෙළෙස් ගති උපද වීමෙන් මිදී නිදහස් වීමට කටයුතු කරන්නෙකි. 'උපාය දන්නෝ අපායෙ නොවැටෙයි' යැයි පැවසුවේ මෙසේ පටිච්ච සමුප්පාද ධර්මතාවය එනම් චතු අරිය සත්‍යය අත් දැක ගත් පුද්ගලයන් උදෙසාම ය. (සූ.දේ.17/සූ.දේ.20)

නිබ්බානගාමී මාර්ගයට අවතීර්ණ වූ එම පුද්ගලයාට තමා අත් දැක ගත් සම්මා දිට්ඨිය පෙරගමන් කරුවෙකු මෙන් මග පෙන්වයි. ඔහු තුළ සම්මා දිට්ඨිය මුල් වීමෙන් (පුබ්බංගම වීමෙන්) තවදුරටත් කළු හෙවත් කෙළෙස් ගති උපදින අයුරු මනාව දැක ගනියි. එම ඉපදුණ ගති නිසා තමාට දුක් දොම්නස් උරුම වන හැටි දකියි (දුක්ඛ අරිය සත්‍යය). දුක නැමති ඵලය හේතු කොට ගෙන ම යායට යායට නැවත නැවතත් ඔහු තුළ සංගති උපදින හැටි අත් දකියි (සමුදය අරිය සත්‍යය). (සූ.දේ.5/සූ.දේ.10/සූ.දේ.18/සූ.දේ.19)

එම පුද්ගලයා තමන් තුළ ක්‍රියාත්මක වන සංගති හඳුනා ගෙන, ඒ සඳහා මුල් වූ තම ලෝකය විද බැලීමෙන් ම එහි සත්‍යය එනම් විද්‍යාව දැකීමෙන් (නිරෝධ අරිය සත්‍යය) කෙමෙන් කෙමෙන් ස්වාභාවිකව ම ප්‍රායෝගිකව ම අවිද්‍යාව දුරලමින් දිට්ඨි ඕඝ, කාම ඕඝ, භව ඕඝ, අවිද්‍යා ඕඝ වලින් පිරුණු සංසාර ගමන නැමති ගංගාව හරහා වැටී ඇති ඒ දණ්ඩ මතින් ගමන් කරමින් සංසාර ගමනින් මිදී නිදහස් වීමට කටයුතු සිදු කරයි (මාර්ග අරිය සත්‍යය). (සූ.දේ.19)

ඔහු තම තමන්ගේ ලෝකය සැබෑ ලෙස ම ක්‍රියාත්මක වෙන ආකාරයත් එම 'ලෝක' ස්වභාවයෙන් මිදී නිදහස් විය හැක්කේ එහි යථාර්ථය විද බැලීමෙන් එනම් 'ලෝකවිදූ' වීමෙන් ම බව අත් දැක ගත් පුද්ගලයෙකි. ඔහු බඹයක් පමණ වූ තම ශරීර කූඩුව තුළින් විද්‍යාමාන වෙන තම

තමන්ට ම අවේණික වූ නිච්ච් සුඛ අත්ථ ගතිවලින් පවත්වා ගෙන යන තම තමන්ගේ පිරි අපිරි ලෝකය හෙවත් කාමාවචර රූපාවචර අරූපාවචර නැමති තුන් ලෝකයෙන් මිදී නිදහස් වෙන්නට, දස සංයෝජන බැම් වලින් මිදෙන්නට එනම් පිරි අපිරි ලෝකයෙන් එතෙර වී 'ලෝකෝත්තර' බවට පත් වෙන්නට කටයුතු කරන්නෙකි. ඔහු තම ජීවිතය එනම් ගත හිත නැමති වත භග කර (භගවත) සත්‍යය 'විද බලමින්' 'විඳවන්නෙක්' නොවී කටයුතු කරයි.(සූ.දේ.20)

මෙම අරිය මාර්ගයේ ගමන් කරන පුද්ගලයා 'දුක්ඛ අරිය සත්‍යය, සමුදය අරිය සත්‍යය, නිරෝධ අරිය සත්‍යය, මාර්ග අරිය සත්‍යය' නම් වූ 'චතු අරිය සත්‍යය' පිළිබඳ වූ යථා භූත ඥාන දර්ශනය, සෝතාපත්ති සකෘදාගාමි අනාගාමි අරහත් යන මඟ ඵල හතර ඔස්සේ හතර අවස්ථාවක දී පිළිවෙළින් අනුපුබ්බංගම ව පූර්ණ කර ගනියි. (සූ.දේ.7/සූ.දේ.19/සූ.දේ.20)

නිබ්බානගාමී මාර්ගයේ දොරටු විවර වීම පිණිස උපකාරී වෙන පටිච්ච සමුප්පාද ධම්මතාවයේ තිපරිවට්ට ධම්මතාවය තමා තුළ ක්‍රියාත්මක වෙන ආකාරය තම තමන් තුළින් ම දැන දැක ගැනීමට මෙම පොතෙහි සඳහන් කරුණු කාරණා ඔබ සියලු දෙනාට ම උපකාරී වේවා!. මෙම අත්දැකීම් ඒ ඒ ආකාරයට ම තම තමන් විසින් අත් දැක නොගන්නා තුරු මේ සියලු විස්තර කිරීම් හුදු ඔබගේ දැනුමට එක් වූ තවත් කරුණු කාරණා කිහිපයක් පමණක් ම වනු ඇත.

# මූලාශ්‍ර කර ගත් ත්‍රිපිටක සූත්‍ර දේශනා

| | |
|---|---|
| සූ.දේ.1 | අනමතග්ගසංයුත්තං/ තිණකට්ඨ සුත්තං/ දුග්ගත සුත්තං/සුඛිත සුත්තං |
| සූ.දේ.2 | ජටා සුත්තං/ මහා නිදාන සුත්තං |
| සූ.දේ.3 | චූල්ලහත්ථිපදෝපම සුත්තං/රථවිනීත සුත්තං/ රට්ඨපාල සුත්තං/ධම්මචේතිය සුත්තං/ සේල සුත්තං/විශාඛ සුත්තං/ සල්ලේඛ සුත්තං |
| සූ.දේ.4 | පටිච්චසමුප්පාද සුත්තං/ඡඡක්ක සුත්තං/ පටිච්ච සමුප්පාද විභංගො /අවිජ්ජාවග්ගො |
| සූ.දේ.5 | යදනිච්ච් සුත්තං /අනිච්ච දුක්ඛ අනත්ත සුත්තං/ අස්සාද සුත්තං/ධම්මචක්කප්පවත්තන සුත්තං/ තථාගත සුත්තං /දුතියලොකධම්ම සුත්තං/අනත්ථ ලක්ඛණ සුත්තං /පඨම සොණ සුත්තං |
| සූ.දේ.6 | ඡ ධාතු විභංග සුත්තං/ මහාපුණ්ණම සුත්තං මධුපිණ්ඩික සුත්තං/ධාතු සංයුත්තං |
| සූ.දේ.7 | මහාසතිපට්ඨාන සුත්තං/ අනාපාන සුත්තං/ පඨම භික්ඛු සුත්තං/ දුතීය භික්ඛු සුත්තං/ දුතිය ආනන්ද සුත්තං/ මහා පරිනිබ්බාන සුත්තං/ නිබ්බෙධික සුත්තං/ රාගවිනය සුත්තං |
| සූ.දේ.8 | මහාරාහුලොවාද සුත්තං/මෙත්තා සුත්තං/ වෙලාම සුත්තං/ මෙත්තාසහගත සුත්තං |

| | |
|---|---|
| සූ.දේ.9 | සෙවිතබ්බාසෙවිතබ්බ සුත්තං/ ගිරිමානන්ද සුත්තං /අනුධම්ම සුත්තං/ද්වෙධා විතක්ක සුත්තං |
| සූ.දේ.10 | චෙතනා සුත්තං/දුතියචෙතනා සුත්තං/ තතියචෙතනා සුත්තං/ කුණ්ඩලීය සුත්තං |
| සූ.දේ.11 | දේවදූතසුත්තං/බාලපණ්ඩිත  සුත්තං/ ආදිත්තපරියාය  සුත්තං/ තිරොකුඩ්ඩ සුත්තං |
| සූ.දේ.12 | පඤ්ච ඉට්ඨ ධම්ම සුත්තං ආයාචනා ප්‍රාර්ථනා සුත්තං |
| සූ.දේ.13 | දේවදහ සුත්තං/ කින්ති සුත්තං/ විතක්ක සණ්ඨාන සුත්තං/මහාකම්මවිභංග සුත්තං |
| සූ.දේ.14 | බ්‍රහ්ම ජාල සුත්තං/සංඝ භේද සුත්තං/ පඨම අනාගතභය සුත්තං/ තතිය අනාගතභය සුත්තං/පඨම ආනන්ද සුත්තං/සුගත විනය සුත්තං |
| සූ.දේ.15 | ආනෙඤ්ජ සුත්තං/ගොපකමොග්ගල්ලාන සුත්තං |
| සූ.දේ.16 | පඨමනානාකරණ සුත්තං/දුතියනානාකරණ සුත්තං/ පඨමමෙත්තා සුත්තං/ දුතියමෙත්තා සුත්තං/ ආරහති සුත්තං/ සමාධි භාවනා සුත්තං |
| සූ.දේ.17 | අක්ඛණ සුත්තං/ කලාමා සුත්තං/ඵග්ගුන සුත්තං |
| සූ.දේ.18 | සබ්බාසව සංවර පරියාය සුත්තං සම්මා දිට්ඨි සුත්තං/ පඨමපාචීනනින්න සුත්තං |
| සූ.දේ.19 | මහාවත්තාරීසක සුත්තං/ අරිය පරියෙසන සුත්තං/ සත්තට්ඨාන සුත්තං/ පරිවීමංසන සුත්තං |
| සූ.දේ.20 | ඒක බීජ සුත්තං / සංයෝජන පුද්ගල සුත්තං |

මෙම පුස්ථකය ධර්ම දානය පිණිස
නොමිලයේ බෙදා දීම සඳහායි

වෙලාවකට දුකයි වෙලාවකට සැපයි

මෙම පුස්තකය සසර දුකින් මිදෙන්නට
මග සොයනා පින්වතුන්ට
මාර්ගෝපදේශනයකි
ඒ නිසාම බුද්ධ භාෂිතයට ටීකාවකි
යමෙක් කිහිප වරක්වත්
කියවමින් පරිශීලනය කළ යුත්තකි
මෙහි අන්තර්ගත කරුණු කාරණා
සිතේ ධාරණය කොට ගෙන
විමර්ශනය කරමින් ම
ප්‍රායෝගිකව ම තම තමන්ගේ
ජීවිතය තුළින් ම
අත් දැක ගත යුත්තකි
උතුම් මනු ගුණ දමින් ම
අන් අයට ද පිළිගැන්විය යුත්තකි


ISBN 978-624-96400-0-9